THE

# VIDAGDHAMUKHAMANDANA

**an ancient Sanskrit Poetical composition**

BY

SRI DHARMADASA

of Kányakubja, India.

---

With a translation into Sinhalese

by

The Very Rev. C. A. Seelakkandha Thera.

Sailabimbarama, Vihara,

DODANDUWA

---

Published by

P. E. KALUPAHANA

Clerk, Police Court, Colombo.

---

Printed at

THE VIDYASAGARA PRESS,

Wellampitiya, Colombo.

1902.

# විදග්ධමුඛ මණ්ඩනය

හෙවත්

ප්‍රශ්නශාස්ත්‍රානුගත

ප්‍රාචීන ප්‍රශස්ත සංස්කෘත කාව්‍යය.

---

පණ්ඩිත ශිරෝමණි භූත

**ශ්‍රීමත් ධර්මදාස කවීන්ද්‍රයා විසින්**

විරචිතයි.

---

දෙඩන්දූවේ

ශෛලබිම්බාරාම විහාරයෙහි නිවැසි

**ගෞරවාර්හ ආචාර්ය්‍ය ශීලක්ඛන්ධ ස්ථවිරපාදයන් විසින්**

ලියන ලද

සිංහලාර්ථ ව්‍යාඛ්‍යානයෙන් යුක්තයි.

---

කොළඹ

පොලිස් උසාවියේ ලිපිකාර ධුරයක් දරණ

දෙඩන්දූවේ

**පී. ජ්. කළුපහන විසින්**

**විද්‍යාසාගර යන්ත්‍රාලයෙහි**

මුද්‍රණය කරවන ලදී.

---

**ශ්‍රී බු: ව: 2445.**

---

1902.

# PREFACE.

THE Vidagdhamukhamandana is an ancient Sanskrit poem by Sri Dharmadasa of Kanyakubja, India. The book is arranged in the form of questions and answers, giving much useful information. Some of the questions and their answers are given in Prakrit, Apabhransa, Magadhi, Paisaci and Loukika languages. In this respect, the book serves a useful purpose in giving one an idea of the nature of these respective languages, a knowledge of which was considered essential in a scholar in India as well as in Ceylon.

The author commences his book with the following stanza :—

"Siddhaushadhani bhava duhkha maha gadanan
Punyatmanan parama karna rasayanani
Prakshala naika salilani mano malanan
Sauddhodaneh pravacanani ciram jayanti."

From the above, it is clear that the author was a Buddhist. The number of classical works in Sanskrit written by Buddhist authors which have survived the vandalism of the troublous times that accompanied and followed the decline of Buddhism in India is large enough to show the extent of learning that existed in the Buddhist period. My co-religionists will feel gratified to see in this book an instance of that learning.

I am unable to fix, with any approach to certainty, the exact period as to when this book was written. In the 27th sloka of this book, the author has paid a compliment to the melody of the writings of a "Vana." This reference is assumed to be to the well-known poet Vana Bhatta, author of Harshacarita Kadambari, &c., who flourished in the reign of Harsha Vardhana, king of Kanyakubja. Indian scholars consider that Vana Bhatta lived in the seventh century of the Christian era. As there are grounds for believing that Sri Dharmadasa the author of this book was a contemporary of Vana Bhatta, I may put down the seventh century as the period when this work was composed.

Durgadasa, the author of Abhidhana Sangraha, makes mention of a *Kosha* composed by Sri Dharmadasa; but I regret I have not been able to see a copy of this *Kosha* yet.

A number of friends, who became aware of the existence of this book, having expressed to me their desire to have it published with a translation into Sinhalese, I have, in deference to their wishes prepared this translation. Through Indian friends. I obtained several copies of the book and found that there were many discrepancies in the text. I also received from my friend, Professor Jivananda Vidyasagara Bhattacharya, B.A., President of the Free Sanskrit College, Calcutta, a presentation copy of an edition of this work brought out by him with a *Tika*, which was of great assistance to me in my present translation.

I trust that my translation will prove to be of use to my country-men, especially to those who are beginners in their studies.

C. A. SEELAKKHANDHA.

Sailabimbarama,
Dodanduwa, Ceylon,
*May 3rd 1901.*




# විඥාපනය.

පරම විචිත්‍ර පරිශුද්ධ පාණිනී කාත්‍යායන චාන්ද්‍රාදි වාඞ්මය පාරදර්ශී නිඛිල විබුධජන සම්භාවිත තර්කාලඞ්කාර ඡන්දශ්ශ්‍රැති ස්මෘති පුරාණ නාටකාදි ශාස්ත්‍රාන්තරයන්ගෙන් සමලඞ්කෘතවූ මධුරතර කර්ණරසායන ගීර්වාණවාණී පරනාමධෙය්‍යයක් ඇති සංස්කෘතභාෂාවෙන් හා ප්‍රාකෘත-අපභ්‍රංශ-මාගධී-පෛශාචී-ලෞකිකාදී භාෂාවන්ගෙන්ද සරසනලද ව්‍යස්තසංඥාදි තුන්සැත්තෑවක් පමණ සූක්ෂ්මතර දුරවබොධ නානාවිධ විචිත්‍රශාස්ත්‍රක්‍රමයෙන් සමුපලක්ෂිතවූ පද්‍යාත්මක ශ්‍රව්‍යකාව්‍යාන්තර්ගත මේ විදග්ධමුඛමණ්ඩන නම්වූ ප්‍රශ්නග්‍රන්ථය විචත් කුලාවතංසපූජ්‍යපාද ශ්‍රීමද්ධර්මදස කවිවරයන් විසින් සමස්තශාස්ත්‍රීජනසමූහයාගේ මුඛාලඞ්කාරණයට අත්‍යන්තොපකාරිවනලෙසත් විද්‍යාභිලාෂී බාලජන්තාව සූක්ෂ්මතරනිපුණ නානාශාස්ත්‍රනයින් මණ්ඩනය කරණු පිණිසත් ලාලිත්‍ය මධුර කොමල පදාවලියෙන් මොනවට හොබවා රචනාකරණලද්දේය.

මේ ග්‍රන්ථයවනාහි විද්‍යාර්ථිජනයන්ගේ ප්‍රඥාවෛපුල්‍යය නිරායාසයෙන් වනපරිද්දෙන් තදුපායවූ නානාශාස්ත්‍රීය යුක්ති සන්දර්ශනය මුල්කොට සුනිපුණ අනෙක ප්‍රශ්නයන්ගෙන් හා තත්මූලකකොට ඇති විවිධවිසර්ජනාවෙන්ද සරසා කරණලද හෙයින් ප්‍රශ්නශාස්ත්‍රය පිළිබඳ විශිෂ්ට ග්‍රන්ථයක්වේ, ප්‍රශ්නශාස්ත්‍රයවූ කලී බුද්ධිමද්විද්‍යාර්ථීන්ගේ ප්‍රඥාපාටවය යුහුසුළුව කරවීමට ඥා ඥානයාගේ අතිශයසමුද්දීපතියටද පරමොපකාරීවූ සදුපායෙක්මැයි, විද්‍යාර්ථිබාලයන්ගේ ඥානයට වහා නොවැටහෙනයමක් ප්‍රශ්නානුසාරයෙන් විචාරීම් වශයෙන් යුහුසුළුව අවබොධකරවීමට යමෙක් ප්‍රොත්සාහී වන්නේනම් ඔහුගේ ඒසමුද්‍යොගය විද්‍යාභිලාෂී බාලපරම්පරාවට අතිශයින් හිතපිණිසද සැපපිණිසද වන්නේමැයි, ප්‍රොත්සාහී ජනයන්ටද එයින් මෙලොවහිදීම විපුලප්‍රයොජනයක් ලැබියහැකිවන්නේය.

එහෙයින් කීහ.

“අඥානාං චෛව යො ඥානං දද්‍යාද්ධර්මොපදෙශනඃ,
කෘත්ස්නාං ච පෘථිවීං දද්‍යාත්තෙන න තුල්‍යං න තත්ඵලම්”යි.

එසේහෙයින් මේ ශ්‍රීධර්මදාසකවිවරයන්විසිනුදු අනධීත විශිෂ්ට ශාස්ත්‍රාන්තරඇති විද්‍යාර්ථීන්ගේ ප්‍රඥාභිවෘද්ධිය විපුලකරවනු පිණිස මහෝත්සාහයකින් මේ ග්‍රන්ථය සම්පාදනයකර තිබෙන බවද හැගේ, ප්‍රඥාභිවෘද්ධියපිණිස භාවිතාකටයුතුවූ ග්‍රන්ථයන් අතුරෙන් මේග්‍රන්ථයත් අවශ්‍යයෙන්ම භාවිතාකටයුතු එකකි, ප්‍රඥාපටුත්වය සඳහා නානාශාස්ත්‍රාභ්‍යාසයද ආවශ්‍යකමැයි.

එහෙයින් කීහ පුරාතනයෝ.

"යෙසං න සඤ්චිතා පඤ්ඤා නෙකසත්ථන්තරෙචිතා,
සම්මොහබහුලතා වෙතෙ නාවබුජ්ඣන්ති කිඤ්චිපි"

සාංඛ්‍යප්‍රවචන භාෂ්‍යයෙහිද.

"ශ්‍රොතව්‍යඃ ශ්‍රුතිවාක්‍යෙභ්‍යො මන්තව්‍යශ්චොපපත්තිභිඃ,
මත්වා ච සතතං ධ්‍යෙය එතෙ දර්ශනහෙතවඃ"යි.

තවද නානාවිධ විශිෂ්ට ශාස්ත්‍රක්‍රමයන්ගේ හා සංස්කෘත-ප්‍රාකෘත අපභ්‍රංශ-මාගධී-පෛශාචී—ලෞකික—යනභාෂාවන්ගේද විශෙෂවිභාග දනුකැමති විද්‍යාර්ථීන්ට මේ එකම ග්‍රන්ථයකින් ඒශාස්ත්‍රභාෂා සම්බන්ධ තත්වය ඉතා පහසුවෙන් ඉගෙණීමට හැකිවනලෙස සංක්ෂිප්තකොට හකුලා මේ ග්‍රන්ථය කරතිබෙන රග ඉතාමත් පැසසියයුතුවේ, මෙයින් ලැබියහැකි විපුලප්‍රයොජනය ගැණවත් මෙහි ඇත්තාවූ විශිෂ්ටතාව ගැණවත් වැඩිදුර වර්ණනා නොකලාට මේ පොත බලන සුධීන්ට ඒද මනාව වැටහේමැයි.

මෙහි කර්තෘවූ ශ්‍රීධර්මදාසකවිවරතෙම කවරකලෙක්හි කවරරටක් විජෘම්භණයකළ කවර ලද්ධි ඇත්තෙක්ද යනු මිලගට සෙවියයුතුව තිබේ, මේ පොතෙහි පළමුවෙනි සතරවෙනි පරිච්ඡෙදයන්හි 1 වෙනි 27 වෙනි 67 වෙනි ශ්ලොකවල ප්‍රකාශව තිබෙන පරිදි අනුව සෙවීමෙන්ම මේ ග්‍රන්ථකර්තෘවරයා ජීවත්ව සිටි කාලය හා දෙශලබ්ධිද දැනගන්ට ඕනෑබව පෙණේ.

ආරම්භශ්ලොකය.

"සිද්ධෞෂධානි භවදුඃඛමහාගදානාං.
පුණ්‍යාත්මනාං පරමකර්ණරසායනානි,
ප්‍රක්ෂාලනෛක සලිලානි මනොමලානාං
ශෞද්ධොදනෙඃ ප්‍රවචනානි චිරං ජයන්ති"යි.

මෙහි ඉෂ්ටදෙවතානුස්මරණ සන්දර්ශිත ප්‍රාරම්භ ශ්ලොකයෙන් අපභාන්‍යවත් ගෞතමසර්වඥයන්වහන්සේගේ ප්‍රවචනසඞ්ඛ්‍යාත සද්ධර්මයට ස්තුතිපුරඃසරව ආශීර්වාද මුඛයෙන්ම ග්‍රන්ථාරම්භය කළහෙයින්

මේ ග්‍රන්ථකර්තෘවරයා බෞද්ධයෙක් බව තෙමේම හඟවයි, එසේ හෙයින් මේ ග්‍රන්ථයෙහි කර්තෘවූ ශ්‍රී ධර්මදාස කවිවරයා බෞද්ධලබ්ධිඇත්තෙකුබවම නිශ්චයකොට කියහැකියි, ඒකාලයෙහි කාශ්මීර, ගන්ධාර, මගධ, මාලව, උජ්ජයිනී, සින්ධු, ලාට, ගෞඩ, නෙපාල කාන්‍යකුබ්ජ ආදි දඹදිවට අයත් බොහෝ රටවල බුද්ධාගම හොඳින් බැබලුණේය, ඒ රටවලද බුද්ධාගම පිළිගත්තාවූ අමර, පුරුෂොත්තමදෙව, මහෙශ්වර, මාතඞ්ග, භූපාල, ජම්බුගුරු, ප්‍රභව, ශය්‍යම්භව, යශොභද්‍ර, සම්භූත, භද්‍රබාහු, ස්ථූලභද්‍ර, මහාගිරි, සුහස්ති, සුස්ථිත, සුප්‍රතිබුද්ධ, කොටික, වජ්‍රසූරි, ප්‍රද්‍යුම්නසූරි, ගුණසෙනසූරි, දෙවචන්ද්‍ර, හෙමචන්ද්‍ර, සොමප්‍රභ, ජිනප්‍රභ, ශොභනමුනි, ක්ෂෙමෙන්ද්‍රාදි ප්‍රසිද්ධ කවිවරයන් බොහොදෙනෙකු විසූ බවද ඒකවිවරයන්විසින් ශාස්ත්‍රාගම සම්බන්ධ නොයෙක් ප්‍රශස්ත ග්‍රන්ථ නිර්මාණය කළබවද දඹදිව ඉතිහාසවල ප්‍රකාශව තිබේ, මෙයින් සමහර පණ්ඩිතවරයන් ශ්වෙතාම්බරධාරී ජෛනලබ්ධිකයන් බව සිතීමට කරුණු පෙණෙතත් ඇතැම්අය යහපත් බෞද්ධයන් බවම සිතන්ට හැකිය, ඒකාලයෙහි මගධරටට අයත් පාටලිපුත්‍රාදි නගරද බොහෝ සෙයින්බෞද්ධ භික්ෂූන්ගෙන් විජෘම්භණය වී තුබුනුබව මෙම පොතේ හතරවෙනි පරිච්ඡෙදයේ හැටහත්වෙනිශ්ලොකයෙන්ද පැහැදිලිවෙයි·

67 වෙනි ශ්ලොකය.

“භික්ෂවො රුචිරාඃ සජ්ජෛව සුරසාශ්ච ජනප්‍රියාඃ,
ක්ෂමායා මතිසම්පන්නා දෘශ්‍යන්තෙ මගධෙ පරම්-”යි.

තවද මේ පොතේ හතරවෙනි පරිච්ඡෙදයේ විසිහත්වෙනි ශ්ලොකයෙන් කාන්‍යකුබ්ජ නගරයෙහිවිසූ මහාකවි බාණභට්ට කවිවරයන්ගේ වාක්‍යරචනාවල තිබෙන මධුරමනොහරතාව හා සඤ්ගීගුඩිද බෙහෙවින් වර්ණනාකොට තිබේ.

27 වෙනි ශ්ලොකය.

“රුචිරස්වරවර්ණපදා-රසභාවවතී ජගන්මනො හරති,
තත් කිං තරුණී නහි නහි-වාණී බාණස්‍ය මධුරශීලස්‍ය.”

මේ ශ්ලොකයේ “බාණස්‍ය” යන්නෙන් බාණභට්ටකවිවරයාම කියනලද හෙයින් මේ ග්‍රන්ථකර්තෘවූ ශ්‍රීධර්මදාස කවිවරයාගේ කාලය නිශ්චය කරගැණීමට මේක ඉතා ප්‍රයොජනවේ, ලොකයෙහි පතළ කීර්ති ඇති මහතුන්ගේ චරිතශ්‍රවණයෙන් පණ්ඩිතයන්ගේ සදා සිත් ඉතා සතුටුවෙති සතු මිද්ධවකසම්ප්‍රදායෙකි.

එහෙයින් කීහ වාණභට්ටකවිවරයෝ.

“සාධූනා මුපකර්තුං-ලක්ෂ්මීං ධර්තුං විහායසා ගන්තුම්,
න කුතුහලි කස්‍යමන-ශ්චරිතං හි මහාත්මනාං ශ්‍රොතුම්.

මෙසේ හෙයින් විදූෂීන්ගේ උද්ග්‍රහණයපිණිසත් මේ ග්‍රන්ථනිර්මාණයකළකාලය නිශ්චයකිරීම පිණිසත් මෙහිදී වාණභට්ට කවිවරයාගේ පරම්පරාව මදක් විස්තාරව දක්වියයුතුවේ.

මේ ග්‍රන්ථයෙහි කර්තෘභූත ශ්‍රීධර්මදාස කවිවරයා වාණභට්ටකවිවරයාට සමකාලීනව හෝ ආසන්නකාලීනව විසූවෙක් වියහැකියි, * මහාකවිසුබන්ධුවිසින් විරචිතවාසවදත්තානම් මාහැඟි ගද්‍යකාව්‍යය අවලම්බනයකොට වාණභට්ට කවිහුවිසින් රචනාකළ හර්ෂචරිතනම් ගද්‍යකාව්‍යයෙහි වාත්ස්‍යගොත්‍රයෙහි උපන්නාවූ කුවෙරභට්ටනම්නමමීමුත්තනුවන් වර්ණනාකිරීම මුල්කොටගෙණ තමන්ගේ පරම්පරාව බෙහෙවින් විස්තාරව දක්වා තිබේ, “භට්ට” යන නාමය වේදයදත් පණ්ඩිතවරයන්ට ව්‍යවහාරකරණ ගෞරවනාමයකි, මේනාමය සමහරු “භට්ටවාණ” නොහොත් “වාණභට්ට” කියා අභිධානයට පූර්වද පරවද ව්‍යවහාර කෙරෙති, ඒ කාලයේ දඹදිව විසූ ප්‍රසිද්ධ වැදගත් පණ්ඩිතවරු වැඩිදෙනෙකුත් මේ භට්ට නාමය ව්‍යවහාරකොට තිබෙන බවද පෙණේ, දැන්කාලේද එසේ ව්‍යවහාරකෙරෙති.

මේ වාණභට්ට කවිවරතෙම භාරතවර්ෂයනමින් ප්‍රසිද්ධවූ දඹදිව ශෝණනම් නදියෙහි පශ්චිමතීරයෙහිවූ ප්‍රීතිකූටනගරයෙහි උපන්නේය, මොහුගේ පියතෙම වාත්ස්‍යගොත්‍රයෙහි උපන් චිත්‍රභානු නමින් ප්‍රසිද්ධවසිටි කෙනෙකි, මව්තොමෝ රාජදෙවිනමින් ප්‍රසිද්ධ තැනැත්තියෙකි, ඒ කාලයෙහි ඉතා ප්‍රසිද්ධව විසූ ච්‍යවනනම් ඍෂිහුගේ ආශ්‍රමයත් මේ ප්‍රීතිකූටනගරයට නුදුරුවම පිහිටාතුබුණේය, කුවෙරභට්ට නමින් ප්‍රසිද්ධව සිටි වාණභට්ට කවිවරයාගේ මීමුත්තනුවන්ට † අච්‍යුත-ඊශාන-හර-පශුපති-යන නම්වලින්යුත් පුත්‍රයෝ සතරදෙනෙක් වූහ, පශුපතිහට අර්ථපතිනමින් එකම පුත්‍රයෙක් විය, අර්ථපතිහට භෘගු-හංස-ශුචි-කවි-මහීදත්ත-ධර්ම-ශතවේද-චිත්‍රභානු—අක්ෂ-අහිදත්ත-විශ්වරූප-යන නම්වලින් පුත්‍රයෝ එකොළොස්දෙනෙක් ඇතිවූහ,

---

* මහාකවිසුබන්ධු ජීවත්වසිටියේ ක්‍රිස්තුවර්ෂ 600 පමණේදී බව උගත් වැඩිදෙනා පිළිගෙණ තිබේ.

† මෙහි සඳහන්වූ මේනාම් සමහරක් ඇතැම් පොත්වල මීට ටිකක් වෙනස්ව දකින්ට තිබේ,

වාණභට්ටකවිවරයාගේ පිතෘවූ චිත්‍රභානුතෙම අර්ථපතිහුගේ අටවෙනි පුත්‍රයාය, වාණභට්ටකවිවරයාගේ බාල්‍යාවස්ථාවෙහිදීම මව් කාලක්‍රියා කළාය, පියානන්විසින් ඉතා උත්සාහයෙන් නැලවීම් පොෂ්‍යකිරීම් ආදියෙන් ලදරුකාලයෙහි වාණභට්ට කවිවරතෙම වර්ධනයට පමුණුවනලද්දේය, වාණභට්ට කවිවරයාට තුදුස්හැවිරිදි වයසෙහිදී ප්‍රියවූ චිත්‍රභානුද කාලක්‍රියාකෙළේය, මෙසේ මව්පියන්ගේ වියොගයෙන් දූඛිදූකට පත් වාණභට්ටකවිවරතෙම සසරට කලකිරී ස්වකීය ගෘහය පවා අත්හැර දේශාටනයට පටන්ගත්තේය, බොහෝ කලක් දේශාටනය කිරීමෙන් ලොකශික්ෂාව හා උගතමනා නොයෙක් ශාස්ත්‍රද ඉගෙණ තමන්කෙරෙහි පැවති විද්‍යාචාතුර්යයෙන් හා ඥානබලයෙන්ද පතලාවූ කීර්තිඇත්තෙක් විය, බොහෝකලක්ම දේශසංචාරණයෙහි නියුක්තව සිට පසුව ස්වකීය ගෘහයට සම්ප්‍රාප්තවිය, විද්‍යාචාතුර්යයෙන් හා බුද්ධිප්‍රභාවෙන්ද පාණ්ඩිත්‍යයෙන්ද කාව්‍යපටුත්වයෙන්දයන සතරකාරණයෙන් වාණභට්ට කවිවරයා අභිප්‍රසිද්ධියට පැමිණිබැව් දත් කාන්‍යකුබ්ජ නගරාධිපති හර්ෂවර්ධනනම් නරපතීන්ගේ පුත්‍රවූ කෘෂ්ණදෙව කුමාරයා විසින් වාණභට්ටකවිවරයා කාන්‍යකුබ්ජනගරයෙහි රාජසභාවට කැඳවාගැණීම පිණිස පියරජු මෙහෙයන ලද්දේය, මේ මෙහෙයීමෙන් සතුටුවූ රජ වාණභට්ට කවිවරයා කැඳවාගෙණ ඒම පිණිස රාජදූතයන් යැවීය, රජුගේ නියොගයෙන් යවනලද දූතයන් සමග වාණභට්ටකවිවරතෙම පසුව කාන්‍යකුජබ්නගරයට පැමිණියේය.

හර්ෂවර්ධන රජතෙම වාණභට්ට කවිවරයාගේ පාණ්ඩිත්‍යයද කාව්‍යපටුත්වයද දැක අතිශයින් විස්මයට පැමිණියේයයි ඉතිහාසවල කියා තිබේ,ඒකාලයෙහි හර්ෂවර්ධනරජහුගේ සභාවෙහි මයූරභට්ට–* මානතුඞ්ගයන ප්‍රසිද්ධ කවිවරයෝ දෙදෙනාද විජෘම්භමාණවූහ, මෙසේ කාලාතික්‍රමණය කොට නැවත වාණභට්ට කවිවරතෙම මයූරභට්ටනම් කවීන්ද්‍රයාගේ දුහිතෘව විවාහකොට පාවාගත්තේය, හර්ෂවර්ධනනම් මේ නරශ්‍රෙෂ්ඨතෙම "ශ්‍රීහර්ෂ" "වික්‍රමාදිත්‍ය"යන අන්‍ය නාමද්වයකින්ද ප්‍රකටවීයයි රාජතරඞ්ගිණියෙහි තුන්වෙනි තරඞ්ගයෙහි එක්සියවිසිපස්වෙනි ශ්ලොකයෙහි හා හර්ෂචරිතයෙහිද ප්‍රකාශව තිබේ.

රාජතරඞ්ගිණියෙහි 125 වෙනි ශ්ලොකය.

"තත්‍රානෙහස්‍යුජ්ජයින්‍යාං ශ්‍රීමාන්හර්ෂාපරාභිධඃ,
එකච්ඡත්‍ර ශ්චක්‍රවර්ත්ති වික්‍රමාදිත්‍ය ඉත්‍යභූත්."

---

* "මානාතඞ්ග"-සමහර.

## හර්ෂචරිතයෙහි.

"ජයති ජ්වලත්ප්‍රතාප-ජ්වලන ප්‍රාකාරකෘත ජගද්‍රක්ෂඃ,
සකලප්‍රණයි මනොරථ-සිද්ධිඃ * ශ්‍රීපර්වතො හර්ෂඃ."

මේ හර්ෂවර්ධනනම් රජහු ක්‍රිස්තුවර්ෂ (606 x 657) හයසියහයටත් හයසියපණස්හතටත් අතර කාලයකැ කාන්‍යකුබ්ජනගරයෙහි රාජ්‍යයකළබව කියා තිබේ, උගත් වැඩිදෙනාගේ මතවල හැටියට හර්ෂවර්ධන රජ ක්‍රිස්තුවර්ෂ 700 මුලභරියේදී රාජ්‍යකළ බව සිතියහැකිවේ, වර්තමානකාලයෙහි දඹදිව සිටින පණ්ඩිත කනෛහයාලාල බ්‍රාහ්මණ මහතුන් ආදි උගතුන්ගේ මතවල හැටියට මේරජහු මුල්කොටගෙණම වික්‍රමාදිත්‍යශකවර්ෂය ව්‍යවහාරකිරීමට පටන්ගත් බවද පෙණේ, සර් විලියම් හන්ටර් ආදි සමහර යූරෝපීය උගතුන් භොජ රජතුමාවත් වික්‍රමාදිත්‍යයන නාමය ව්‍යවහාරවූ නිසා ඒකාලයේ පටන් වික්‍රමාදිත්‍ය ශකවර්ෂය ව්‍යවහාරවීයයිද කියාතිබේ, හියුන්සාන් (Hisun Thang)නම් චීන බෞද්ධ භික්ෂූන්වහන්සේ දඹදිව පුරාණ පූජනීය බෞද්ධ ස්ථාන දැක වැඳපිදීමපිණිස පැමිණි කාලයේ මේ හර්ෂවර්ධන රජහා බාණභට්ට කවිවරයාත් ජීවත්වසිටි බවද ඔවුන් සම්බන්ධව දතමනා වෙනත් තොරතුරුද විස්තරවශයෙන් හියුන්සාන්ගේ පොතේ ප්‍රකාශව තිබේ, හර්ෂවර්ධන-ශිලාදිත්‍ය-හියුන්සාන්-යනමේ උතුමන් සමකාලීනවූහෙයින්ද ප්‍රවර සෙනරජ ක්‍රිස්තුවර්ෂ 500×600 මත් අතර කාලයක විසූයේයයි කීම යුක්තතරවේ යනු ප්‍රොප්සර් වීබර් මහතුන්ගේ මතබව පෙණේ, ලක්දිව කුමාරදාසරජුදවස දඹදිව දක්ෂිණමධුරාවෙහි ශ්‍රීහර්ෂනම් රජෙක් විසූයේය, මේරජ නීලපටධරයන් විසින් කළ සද්ධර්මප්‍රතිරූපක නීල පටදර්ශනය ආදි අව්‍යවස්ථිත ග්‍රන්ථ දැක මේවනාහි ධර්මයෙක් නොවෙයි ශාසනභෙදයෙකැයි සිතා මාවැනි ආඥාචක්‍රවර්ත්තියක්හු මීට උදාසීනවූවහොත් බුදුසස්න නස්නේය, බොහෝ සත්හු මේගෙණ අපායභාක්වෙතියි නීලපටධරයන් සහිත ඔවුන්ගේ පොත්පත් අග්නිපූජාකොට ශාසනසංග්‍රහකළබව විතීයධර්මකීර්ත්ති ස්ථවිරපාදයන්ගේ ශාසනාවතාරයෙහි කියා තිබේ, ඒ කාලය මීට හවුරුදු 1385 කට නොහොත් 1201 කට අතීතවේ, මේශ්‍රීහර්ෂ යනු භොජ රජහු ගැණ කියනලදද නැතහොත් හර්ෂවර්ධනරජුගැණදැයි සෙවියයුතුයි, හර්ෂවර්ධනරජ බෞද්ධයෙක්වී අශොකරජමෙන් ශාසනවර්ධනය කළබව දඹදිව ඉතිහාසවල පෙණෙනහෙයින් විතීය ධර්මකීර්ත්ති ස්ථවිරපාදයන්ගේ මේ කීමත් හර්ෂවර්ධනරජු ගැණයයි සිතීම වඩා යුතුව තිබේ.

---

* "ශ්‍රීපර්වතොහර්ෂො"-පාඨභෙද.

එක්කලෙක මේ හර්ෂවර්ධන රජතෙම සේනාසහිතව යම්කිසිකට යුත්තක් සඳහා විනධ්‍යාවනයට පැමිණියේය, එකල විනධ්‍යාවනයෙහි දිවාකරමිත්‍රනම් බෞද්ධ භික්ෂුවක් විසූයේය, රජතෙමේ දිවාකර මිත්‍ර නම් බෞද්ධ භික්ෂුවගේ ආශ්‍රමයට පැමිණ ඔහු දුටු පිළිසඳරකතා කිරීමෙන් මිත්‍රබවට පැමිණ පසුව ඒ භික්ෂූන්වහන්සේ කෙරෙන් බෞද්ධ ධර්මය අසා ඉගෙණ පැහැදී බෞද්ධයෙක්ද වූයේය, ඉක්බිති රජතෙමේ ස්වකීය රාජධානිය වූ කාන්‍යකුබ්ජනගරයට පැමිණ එකල රජුට අයත් ගන්ධාර, සින්ධු, ගුජ්ජර, ලාට, මාලවයන සියලු නගරවල බුද්ධාගම යහපත්සේ බැබලවූයේය, පාටලිපුත්‍රනගරයෙහි රජකළ අශෝකරජමෙන් මේ හර්ෂවර්ධනරජද ආඥවක්‍රවර්තීවූ සියලු තෙජොබලපරාක්‍රමාදියෙන් සමන්විතයෙක් විය, මේ රජුන් දෙදෙනා පමණ තෙජොබලපරාක්‍රමාන්විත අන්රජෙකු එකල උත්තරභාරතයෙහි නොසිටිබව ඇතැම් උගතුන් විසින් සවිරව කියාතිබේ.

මේ හර්ෂවර්ධනරජ ප්‍රසිද්ධ කවිවරයෙකි, සංස්කෘතභාෂාවෙන් පද්‍ය රචනාකිරීමෙහිද ඉතා දක්ෂයෙකි, අවශේෂ ප්‍රසිද්ධ පණ්ඩිතවරයන්ටද ගරුසත්කාරාදියෙන් නිතර සම්මානකළ පුරුදු ඇත්තෙකි, මේ රජහු විසින්ම රචනාකළාවූ "නාමුශාසන" යනනමින් යුත් කාව්‍යයක්හා සංස්කෘතභාෂාවෙන් රචනාකළ බොහෝ ශ්ලොකගීද මේතාක් දඹදිව නිරුපද්‍රැතව තිබෙනබැව් කියාතිබේ, රත්නාවලිය හා නාගානන්දයද ප්‍රියදර්ශිකානාටකයද මේ රජහුගේ කෘතියි.

"ද්වීපාදන්‍යස්මාදපි-මධ්‍යාදපි ජලනිධෙ ර්දිශොප්‍යන්තාත්,
ආනීය ඣටිති ඝටයති-විධිරභිමත මභිමුඛීභූතඃ"-සී.

මේ ශ්ලොකය හර්ෂවර්ධනරජහුවිසින් හර්ෂචරිතයෙන් උපුටාගෙණ රත්නාවලීනම් නාටකයෙහි යොදනලද්දයි ඩොක්තර් හිල්, ඩොක්තර් බූලර්, මුම්බාපුරයෙහි පණ්ඩිතකාශිනාථ යන උගත් මහතුන් විසින් කියනලදී, මේ රජහුගේ සභාවෙහි මයූරභට්ට, මාතඞ්ග, බාණභට්ට, භවභූති, ආදි ප්‍රසිද්ධකවිවරයන් තුන්සියයක් පමණ සිටිබවද රාජතරඞ්ගිණියෙහි කියාතිබේ, † ඒ කවිවරයන් විසින් කළාවූ නානාවිධ විශිෂ්ට ග්‍රන්ථද මෙකල බොහොසේ දකින්ට තිබෙත්, මයූරභට්ට කවිවරයා විසින් සූර්‍ය්‍යශතකනම් මාහැඟි ප්‍රශස්ත පද්‍යකාව්‍යය හා පදචන්ද්‍රිකා

---

† භක්තාමරස්තොත්‍ර ටීකාවෙහි මාලවදේශාන්තර්ගත උජ්ජයිනී නගරයෙහි රජකළ වෘද්ධභොජරජුගේ කාලයෙහි ම තාඞ්ග-මයූරභට්ට-බාණභට්ට යන කවිවරයන් සිටිබව කියා තිබේ, මෙයින් හර්ෂවර්ධන රජහට වෘද්ධභොජයයි ව්‍යවහාරයක් එකල තුබුනාදැයි සෙවියයුතුයි.

කෝෂයද රචනාකරණ ලද්දේය, සූර්‍යශතකය රචනාකිරීමෙන් මයූරභට්ට කවිවරයාගේ ඉතා දරුණු කුෂ්ඨරොගයක් සුවවූබවද ඇතැම් අය කියති, මානතුඞ්ග කවිවරයාවිසින් භක්තාමරස්තොත්‍රය කරණලද්දේය, භවභූති කවිවරයා විසින් උත්තරරාමචරිත-මහාවීරචරිත යන නාටකදෙකද මාලතී මාධවයද කරණලද්දේය, බාණභට්ට කවිවරයා විසින් වාසවදත්තාව අවලම්බනයකොට කාදම්බරීපූර්වාර්ධය හා හර්ෂචරිතයන ප්‍රශස්ත ගද්‍යකාව්‍යදෙක හා ශබ්දචන්ද්‍රිකාකොෂයද රචනාකරණ ලද්දේය, මීට පසුව බාණභට්ට කවිවරතෙම මාර්කණ්ඩෙය පුරාණයෙහි අන්තර්ගත දෙවීමාහාත්ම්‍යය අවලම්බනයකොට චණ්ඩිකාශතකයද රචනාකෙළේය, මේ පොත මුලපටන් අවසානය දක්වා ශාර්දූලවික්‍රීඩිත වෘත්තයෙන් බඳනාලද පද්‍යකාව්‍යයෙකි, මහාකවිශ්‍රීකාලිදාසවිසින් කරණලද කුමාරසම්භවය අවලම්බනයකොට පාර්වතීපරිණයනම් නාටකයක්ද රචනාකොට තිබේ, බාණභට්ටකවිවරයා මේ පාර්වතීපරිණය රචනාකොට හර්ෂවර්ධන රජුගේ නමින් ප්‍රසිද්ධකළබවත් ඊට සතුටුවූ රජහුවිසින් සුවර්ණ රජතාදි බොහෝ සම්පතින් බාණභට්ට කවිවරයා පුදකළබවත් කියාතිබේ, මේ පාර්වතීපරිණය බාණභට්ට කවිවරයාගේ කෘතියකැයි බාබු රාමදාස මහතුන්ආදි භාරතදෙශීය නවීන ඇතැම් පණ්ඩිතයෝ පිළිනොගණිති, ඊට වැඩියක්ම සැකකෙරෙති, ශ්ලොකබද්ධකාදම්බරියත් මුකුටතාඩිතනාටකයත් මේ බාණභට්ට කවිවරයාගේම කෘතියි ඇතැම් අයගේ මතයි, පද්‍යකාව්‍ය රචනාවෙහි වාල්මීක කාලිදාස යන කවිවරයෝ දෙදෙනා යම්සේ ප්‍රසිද්ධව සිටියාහුද එසේම ගද්‍යකාව්‍ය රචනාවෙහි ශ්‍රීදණ්ඩී බාණභට්ට යන කවිවරයෝ දෙදෙනාත් ප්‍රසිද්ධව සිටියෝය, බාණභට්ට කවිවරයා විසින් රචනාකළ ග්‍රන්ථ අතුරෙන් කාදම්බරිය සියල්ලට වඩා උත්කෘෂ්ට බව කියයුතුයි, එසේ නමුත් මේ කවිවරයා ප්‍රථම පඞ්ක්තියේ පණ්ඩිතයකු හැටියට නොගිණිය හැකියි, පාර්වතී පරිණයෙහි මේ කවිවරයා ගැණද මෙසේ වර්ණනාකර තිබේ.

"අසති කවි සාර්වභෞමෙ-වාත්ස්‍යාන්වය ජලධිසම්භවෝ බාණඃ,
නෘත්‍යති යද්‍රසනායාං-වෙධෝ මුඛලාස්‍ය සිකාවාණී."ති

තවද මහාකවි ශ්‍රීකාලිදාස කවිවරයා ජීවත්ව සිටිකාලයට අවුරුදු (100) සියයකට පසුව හෙවත් ක්‍රිස්තුවර්ෂ (700) හත්සියේ මුලභාගයේදි මේ බාණභට්ට කවිවරයා උපන්බව කියාතිබේ, භාරතදෙශයෙහි කාලිදාසනමින් ප්‍රසිද්ධවූ පණ්ඩිතවරයන් තුන්දෙනෙකුව සිටිබව

වාචස්පත්‍යාදි පොත්වල පේණබැවින් මේ කවර කාලිදාසයක්හු සඳහා දැයි සෙවීම යුතුව තිබේ, කලිකතානගරයෙහි ආණ්ඩුවේ සංස්කෘත මහාශාස්ත්‍රශාලාවේ ප්‍රධානාචාර්ය ධූරය බොහෝකලක් දැරූද අපට ඉගැන්වීම පිළිබඳව නොයෙක් ආධාරකළාවූද පණ්ඩිත කුලපති ශ්‍රීතාරානාථතර්කවාචස්පතිභට්ටාචාර්ය බ්‍රාහ්මණ පඬිතුමන් ආදී වෙනත් භාරතදේශීය පණ්ඩිතවරයන් විසින්ද ප්‍රොප්සර් පීටර්සන්මහතා ආදි යුරෝපීය පණ්ඩිතයන් විසින්ද කාලිදාසාදි ප්‍රාචීන කවිවරයන්ගේ කාලනියමය හරිහැටි දැනගැණීම පිණිස බොහෝ වෙහෙසමාන්සි දරාතිබෙනබව ඔවුන් විසින් පළකරවා තිබෙන පොත්පත්වලින් පෙණේ, එසේනමුත් ඔවුන්ගේ ඒ කීම් එකිනෙක සමනොවන පරිද්දෙන් සමහරතැනක කියාතිබේ, වල්ලාලනම් පණ්ඩිතයා විසින් කරණලද භොජප්‍රබන්ධයෙහි නොයෙක් කාලයෙහි විසූ පණ්ඩිතවරයන් සමකාලීනව සිටිබව හැඟෙනලෙස ලියාතිබීම මේ අවුල්වැඩිවීමට හෙතුවූ නමුත් ඒ පොතේ එකල ප්‍රසිඬව විසූ පණ්ඩිතයන් සම්බන්ධව දැනගතයුතුවූ විසිතුරු කතා බෙහෙවින් දක්වා තිබීම එයින් ලැබිය හැකි එක්ප්‍රයොජනයක් බවද පෙණේ, කාවිසින්වුවත් මේ ප්‍රාචීන කවිවරයන් සම්බන්ධ කාලනියමය මේ කාලයේදී සම්පූර්ණයෙන් හරිහැටි කීම ලීම ඉතා දුෂ්කර වැඩකි, එසේවිනමුත් වැඩිදෙනා පිළිගෙණ තිබෙන පරිද්දෙන් රඝුවංශාදි ප්‍රශස්ත කාව්‍යකළාවූ මහාකවි ශ්‍රීකාලිදාස කවීන්ද්‍රයා මීට හවුරුදු (1934) එක්දහස්නවසිය සූතිසකට පෙර දඹදිව අවන්ති ජනපදයෙහි මාලවදෙශයෙහි උජ්ජයිනී පුරයෙහි සිටිබව පිළිගතයුතුයි, රඝුවංශයට මල්ලිනාථසූරිවිසින් කළ සඤ්ජීවනී ටීකාවෙහි මහාකවි ශ්‍රීකාලිදාස කවිවරයන්ගේ පාණ්ඩිත්‍යය ගැණ මෙසේ වර්ණනාකොට තිබේ.

“කාලිදාසො ගිරාං සාරං කාලිදාසඃ සරස්වතීම්,
චතුර්මුඛො යථා සාක්ෂාද්විදුර්නාන්‍යෙ තු මාදෘශාඃ”–සී

බුඬචරිතයනම් ප්‍රශස්ත සංස්කෘත මහාකාව්‍යය රචනාකළ අශ්වඝොෂ කවිවරයා ක්‍රිස්තුවර්ෂයෙහි පළමුවන ශතවර්ෂයෙහිදී හෙවත් 1901 කට පෙර ජීවත්ව සිටිබව අපමිත්‍රවූ අප්පාශාස්ත්‍රිවිද්‍යාවාචස්පති පඬිතුමා කියාතිබෙන හෙයින් මහාකවිකාලිදාස කවීන්ද්‍රයා සිටි කාලය මීටත් පළමුබව ජ්‍යොතිර්විදාභරණයේ පේණ වර්ෂගණනින් හැඟේ, ජ්‍යොතිර්විදාභරණය කළ කාලය සම්බන්ධ වර්ෂ දැක්වීම සඳහා ඒ පොතේ මෙසේ කියාතිබේ.

"වශේෂිඃ සිඤ්ධුරදශීනාම්බරගුණෛ ෂ්‍යාතෙ කලෞ සම්මිතෙ,
මාසෙ මාධවසංඥකෙත්‍ර විහිතො ග්‍රන්ථක්‍රියොපක්‍රමඃ''-යි.

මේ ශ්ලෝකාර්ඛයෙහි සිඤ්ධුර 8, දශීන 6, අම්බර ශුන්‍ය හෙවත් 0 ගුණ 3, යන දෛවඥයන්ගේ මේ පාරිභාෂික සඞ්ඛ්‍යාවන් වාමාවෘත්තව ගෙණ යෙදූකල 3068 ක් වෙති, කලියුගවර්ෂයෙහි 3068 ක්වූ වෙසක් මාසේදී ජ්‍යොතිර්විදාභරණය කළබව මෙයින් පෙණේ, මෙකල කලියුගවර්ෂය 5002 ක් වේ, ඉහතකී 3068 වර්ෂ සඞ්ඛ්‍යාව 5002 කෙන් හළවිට සෙසව තිබෙන්නේ 1934 කි, ජ්‍යොතිර්විදාභරණයේ ප්‍රේණ මේ වර්ෂගණනින් මහාකවි ශ්‍රීකාලිදාස කවිවරයා මීට හවුරුදු 1934 කට පෙර සිටියබව නිශ්චයකටයුතුවේ, මේ වර්ෂසඞ්ඛ්‍යාව මෙසේ විය හැකියයි පිළිගණිතත් ජ්‍යොතිර්විදාභරණය මහාකවිශ්‍රීකාලිදාසකවිහු ගේ කෘතියකැයි කිසිසේත් පිළිගතයුතුනොවේ, ඒ සඳහා කියයුතු කරුණු බොහෝ ඇතත් ඒවා මෙහිදී කියයුතු නොවෙත්, කාලිදාස මහාකවිහු විසින්ම මාලවිකාග්නිමිත්‍රනාටක ප්‍රස්තාවනාවෙහි තමන්ට පූර්වයෙහි සිටි ඇතැම් පණ්ඩිතයන්ගේනම් දක්වීමේදී ශූද්‍රක-ධාවක-භාසක-රාමිල-සෞමිල්ලයන පණ්ඩිතයන් පස්දෙනකුන්ගේනම් කිය නලද්දාහ, මේ පණ්ඩිතවරු ඉතා පෙර සිටියබව වෙනත් වැදගත් කීම්වලින් ඔප්පුවෙන නිසා මහාකවි ශ්‍රීකාලිදාස කවීශ්‍වරයාගේ කාලය යටදක්වූලෙස පිළිගැණීම යුක්තතරයයි හඟිමු, මේ මහාකවි ශ්‍රීකාලිදාස පඬිතුමාගේ කාලයට හවුරුදු සියයකට පසුව වාණභට්ටකවිවරයා ජීවත්ව සිටියේය යන පළමුකීම එසේමයයි පිළිගැණීමට කරුණු නොපෙණේ, ජ්‍යොතිර්විදාභරණය ශාලිවාහන ශකවර්ෂ 1200 යේදී කළ බවම සමහරුනරයේ කියති, ඒ කීමේ හැටියට මීට වර්ෂ 623 කට පෙරවියයුතුයි, ක්‍රිස්තුවර්ෂයෙන් 700 පමණ කාලයේදී කාලිදාසනමින් ප්‍රසිද්ධ පණ්ඩිතයෙක් විසූබවද ක්‍රිස්තුවර්ෂ 634 දී ශ්‍රීරවිකීර්ත්ති නම් පණ්ඩිතයකු විසින් කළ පුලාකෙශි නම් ප්‍රබන්ධයෙහි කාලිදාසනම් පණ්ඩිතයකු ගැණ කරණලද ප්‍රශංසාවක් දකින්ට තිබෙන හෙයින්ද ජ්‍යොතිර්විදාභරණයෙහි කර්තෘ මේ කාලිදාසයයි පිළිගතයුතුවේ, භොජරාජ සභාවේ සිටි කාලිදාස කවිවරයාත් මොහුමනම් මොහුට හවුරුදු සියයකට පසුව වාණභට්ට කවිවරයා ඇතිවීයයි සිතීම යොග්‍යබව පෙණේ.

මෙහි දක්වූ මේ වර්ෂකාල පිළිබඳව වැඩිදුර කල්පනාකර බලනවිට විදග්ධමුඛමණ්ඩනයෙහිකර්තෘවූ ශ්‍රීධර්මදාස කවිවරයාත් මීට හවුරුදු (1204)එක්දහස් දෙසිය එකකින් මත්තෙහි හෝ ඊට ආසන්නවූ කාලයක කාන්‍යකුබ්ජනගරයෙහි සිටිබවම සන්දිග්ධවයෙන් කියහැකියි

කුමක් හෙයින්ද යත්? මේ ශ්‍රීධර්මදාස කවිවරයාත් හර්ෂවර්ධන රජහුගේ සභාවේම සිටි පණ්ඩිතයෙක් හැටියට සිතීමට බෙහෙවින්කරුණු ඇති හෙයිනි, මෙකල දඹදිව සිටින ඇතැම් පණ්ඩිතයන්ගේ මතත් එසේමබැව් දැනගන්ට තිබේ, මේ ශ්‍රීධර්මදාස කවිවරයන්විසින් අනික් ප්‍රශස්ත සංස්කෘත කෝෂයක් කළබවද අභිධානසංග්‍රහකාර දුර්ගාදාසාදීන් විසින් කියා තිබේ, අපට ඒ පොත මේතාක් දකින්ට නොලැබුණේය, මේ ග්‍රන්ථයකළ කාලය නියමවශයෙන් දක්වීමට මීට වඩා පහසු අන්ක්‍රමයක් මේතාක් අපට අසන්ට හෝ දකින්ට නොලැබුණේය, මෙසේනම් මේපොත කාලවශයෙන්ද ඉතා සැලකියයුතු පැරැණිපොතක් වේ, මෙයින්මේ පොතේ ප්‍රෞඪත්වයහා ගුරුත්වයද කාවත් මනාව වැටහෙයි, මේ පොතේ පරිච්ඡේදසතරක්වෙති, ඒඒ පරිච්ඡේදවල අන්තර්ගත කරුණු වෙන් වෙන් වශයෙන් මෙහි පටුනේ යොදා ඇති.

මේතාක්ම මේ මාහැඟි ප්‍රශස්ත ග්‍රන්ථයට ව්‍යාඛ්‍යානයක් නොමැතිව තිබීම විද්‍යාර්ථීන්ගේ උද්ග්‍රහණ ධාරණයට මහත් බාධාවක් හෙයින් මීට සිංහලභාෂාවෙන් ව්‍යාඛ්‍යානයක් කොට විද්‍යාර්ථීන්ගේ ඉගණීමට ආධාරයක් කරලීනම් ඉතා මැනවයි සැලකියයුතු වැදගත් කීප දෙනෙකුන් විසින් උදක්ව ඕනෑකමින් ආරාධනාකළහෙයින්ද ලක්දිව ශාස්ත්‍රවර්ධනයට පැමිණිතිබෙන මේ කාලයෙහි මේ පොතට ව්‍යාඛ්‍යානයක් කිරීම යහපත් බව කීප විදියකින් අපටත් වැටහුනු හෙයින්ද සිංහලභාෂාවෙන්ම ව්‍යාඛ්‍යානයක් කිරීමට සිතට ගත්තෙමු, මේ ව්‍යාඛ්‍යානය කිරීම පිණිස පළමුවෙන් පොත සකස්කරගැණීම සඳහා දඹදිවට අයත් රට කීපයකින් අප මිත්‍රමහතුන්ගේ ආධාරයෙන්පැරැණි පිටපත් කීපයක් සපයාගෙණ එකිනෙක සමකොට බැලූකල්හි බොහෝසේ සමනොවන කීපතැනක්ම ඒ පොත්වලත් දකින්ට ලැබී සිත මන්දෝත්සාහයට පැමිණ සිටිනවිට කල්කතා නගරයෙහි ආණ්ඩුවේ සංස්කෘත ශාස්ත්‍රශාලාවේ ආචාර්‍ය්‍යවරයෙක්වූ අපමිත්‍රවූ පණ්ඩිත ශිරෝමණීභූත ජීවානන්දවිද්‍යාසාගර භට්ටාචාර්‍ය්‍ය බ්‍රාහ්මණ පඬිතුමාවිසින් සංශෝධනය කොට සංස්කෘතභාෂාවෙන් කරණලද ව්‍යාඛ්‍යානයක් සමග මුද්‍රණයකළ පොතක් තුෂ්ටිප්‍රාභෘතවශයෙන් අපට ලැබී ඒ පොත බලා පළමු පොත් හැමට වඩා හොඳබව හැඟී ඒ පොත ආධාර කරගෙණ මේ ව්‍යාඛ්‍යානය කෙළෙමු, මේ ව්‍යාඛ්‍යානය කිරීමට ජීවානන්දවිද්‍යාසාගරභට්ටාචාර්‍ය්‍ය පඬිතුමා විසින් කළ ටීකාවත් අවශ්‍යයෙන්ම ඉවහල්වූ බව කෙළෙහිගුණ සැලකීම් වශයෙන් මෙහි සඳහන් කරමු.

මෙකල වනාහි යමෙක් පණ්ඩිත සභාවල නිර්භයව සිටීමටද ව්‍යක්තව කථාකිරීමටද කැමතිවන්නේනම් නුවනැති ඔහු විසින් මේ විදග්ධමුඛමණ්ඩනය සමාදරයෙන් පරිශීලනය කටයුතුබව ග්‍රන්ථකර්තෘවරයා විසින්ම ග්‍රන්ථාරම්භයෙහිදී දක්වා තිබේ, ඒ මෙසේයි.

"යද්‍යස්ති සභාමධ්‍යෙ-ස්ථාතුං වක්තුං මනස්තද සුධියඃ,
තාම්බූලමිව ගෘහීත්වා විදග්ධමුඛමණ්ඩනං විශත.

ග්‍රන්ථකර්තෘවරයාගේ මේ නියමයලෙස යමෙක් මේ පොත කලක් ආදරයෙන් භාවිතාකරන්නේනම් පුහුනුකරන්නේනම් ඔහු මෙහි දක්වූ පරිච්ඡෙදන් විසිතුරු නොයෙක් ශාස්ත්‍රක්‍රමහා සංස්කෘතාදි නානා භාෂාවන්ගේ විශෙෂ විභාගද ඉගණීමෙන් නොබෝකලකින්ම ප්‍රඥපටුත්වයට පැමිණ පණ්ඩිතයන්ගෙන්ද ලෝවැස්සන්ගෙන්ද ගරුබුහුමන් ලැබියයුතු ප්‍රශස්ත බුද්ධිමතෙක්ද වන්නේය, එහෙයින් සියලු විද්‍යාර්ථීන් විසින් සමාදරයෙන් මේ පොත භාවිතාකරණු ලැබේනම් මේ ව්‍යාඛ්‍යානය කිරීමට අපගත් සියලු ප්‍රයාසද එයින්ම සඵලවියහැකිමැයි මේ පොතේ ප්‍රශ්නොත්තර පහසුවෙන් තේරුම්ගැණීම පිණිස ශ්ලොකවල ප්‍රශ්නයන්ට අනතුරුව 1,2, යනාදී වශයෙන් පිළිවෙළින් අඞ්ක යොදනලද්දේය, සත්නයේ යොදනලද ඒ ඒ අඞ්කයන් හා පිළිවෙළින් එක්කොට ගත්කල්හි ප්‍රශ්නවලට ලැබියයුතු උත්තර මනාව වැටහෙනවා ඇති, එක්වරක් බලා තේරුම්ගතනොහැකි යම් ප්‍රශ්නයක් දෙතුන්විටක් පරීක්ෂාවෙන් බැලුවාම හොඳින් වැටහෙනවාඇති, මෙහි අපේ ප්‍රමාදයකින් හෝ මතිභ්‍රමයකින් හෝ හටගත් යම්කිසි දෙසක් සුධීන්විසින් දක්නාලැබේනම් ඒද ඉවසා මෙයින්ලොකයාහට විපුලාර්ථසිද්ධියක්ම කරවනලෙස සලකනුලැබේවා යනු අපේ ප්‍රාර්ථනාවයි.

"පශ්‍යති පරෙෂු දොෂා-නසතො'පි ජනඃ සතොපි නෛව ගුණාන්,
විපරීත මිදං සවසමින්-මහිමා මොහාඤ්ජනස්‍යෛෂඃ".

"නිර්මත්සරාඃ සුකෘතිනඃ ඛලු යෙ විචිච්‍ය
කාව්‍යෙෂු ගුණස්‍ය කණමප්‍යවතංසයන්ති;
යෙෂාං මනො න රමතෙ පරදොෂවාදෙ
තෙ කෙචිදෙව විරලා භුවි සඤ්චරන්ති."

ශිවමස්තු.

C. A. Seelakkhandha.

ශ්‍රීබුද්ධවර්ෂ 2445 වන්නෙහි වෙසක්
මස පූර්වපක්‍ෂප්‍රාස්වක්ලත් කිවිදින
දෙඩන්දූව ශෛලබිම්බාරාමේදීය.

# ව්‍යාඛ්‍යාකර්තුර්නිබන්ධනම්.

---

ශ්‍රීඃ

1. බුද්ධිඃ සතාමභවති සූක්ෂ්මතරා විශෙෂාත්
ප්‍රෙක්ෂාවතාං සකලවාඞ්මයතත්වබොධඃ,
විද්‍යොතතෙ සපදි බුද්ධිබලඤ්ච යස්මාත්
තතෙනා ක ඉච්ඡති ජන සත්තරසා විවෙෂ්ටුම්.

2. බුධා! සච්චරිතභාෂිත ප්‍රවණමානසාරාධනං
මහී සම්පූර්ණ සංහත ප්‍රගුණභාරතී සම්පදම්,
සුවාක්‍යරසමණ්ඩිතං විවිධප්‍රසූනමාලාශ්‍රිතං
විදග්ධමුඛමණ්ඩනං විශත බුද්ධිසම්පාවනම්.

3. ප්‍රස්‍යන්දනං තුහිනරශ්මිමණෙස්තු තාවද්
යාවත් සපීගනා ජලනිධෙඃ පුලිනොපකණ්ඨෙ,
යො ‘ඞ්ගීක්‍රියෙත විබුධෛ ර්‍යදි තෙන තද්වද්
වෘන්දෛඃ පරං සමෘත්මතාං ස හි සංවිභාව්‍යඃ.

4. චක්ෂුර්‍යථා තිමිරදොෂගතං ගතාභං
තෙජොමයං හිමකරාදි පුරො න පශ්‍යෙත්,
දොෂාදිවෛකෘතවතාං ප්‍රතිභා'පි තද්ව
නාමිතෛථ්‍යව චිත්‍රමධිකා විශදතමතාං හි.

5. නෛතාවත්කාලතො යස්මා දජ්ජගදීපසච්චයං මහාන්,
හෙමන්තශිශිරවාප්‍ය චණ්ඩාංශො රිව මණ්ඩලම්.

6. තස්මා තත්තදීපිසිද්ධ්‍ය මෙ ජගතීමප්‍රති ප්‍රායශඃ,
යත්නාදෙ ‘ෂ ප්‍රකාශො ‘පි කෘතඃ කෘතිෂු ගෞරවාත්.

7. භාරතී ධම්මපදස්‍ය දුර්බොධා විෂමාශ්‍රිතා,
එෂා'පි මත්කෘතා ව්‍යාඛ්‍යා තාමප්‍යුද්බොධයිෂ්‍යති.

8. යද්‍ය සන්ති කිඤ්චිත්ස්ඛලිත නන්විහෛව
ජාතම්ප්‍රමාදා ද්භ්‍රමතො ‘පි මෙ යත්,
බුධවා කුශාග්‍රීයමතෛඃ සුධීභි
සතාංශොධනීයං කෘපයා ජගත්සු.

9. ලඞ්කාද්වීපෙ ‘තිවිශදෙ ශෛලබිම්බාභිධො මහාන්,
විහාරඃ සුප්‍රතීතො’ ස්ති භික්ෂුසඞ්ඝනිෂෙවිතඃ.

10. වසංස්තස්මින් යතීනාඤ්ච ඡාත්‍රාණාං ශාස්ත්‍රකාමිනාම්,
සවිශෙෂු ධර්මශාස්ත්‍රෙෂු ගණාචාර්‍ය්‍යී ධුරන්ධරඃ.

11. ශීලස්කන්ධසති ශබ්දකාර මධුරං ව්‍යාඛ්‍යාමිමාං සෛංහලීං
ශ්‍රීමත්පණ්ඩිතවෘන්දවර්ණිතයශාඃ ඛ්‍යාතො ගුණෛකාග්‍රධීඃ,
ශාකෙ වාණධරාගජෙන්ද්‍රවිමිතෙ යාතෙ වෘෂම්භාස්කරෙ
භාගෙ ත්‍රයස්තිමිතෙ මහීසුතදිනෙ සංජෘම්භතාං සා චිරම්.

ශිවමස්තු සර්වජගතාම්.

---

# අනුක්‍රම ණිකා.

---

# THE VIDAGDHAMUKHA MANDANA.

සන්න සහිත

# විදග්ධමුඛ මණ්ඩනය.

නමස්තස්සෙම
භගවතෙ’හීතෙ සම්‍යක්සම්බුද්ධාය.

1. සිද්ධෞෂධානි භවදුඃඛ මහාගදානාං
පුණ්‍යාත්මනාං පරමකර්ණ රසායනානි,
ප්‍රක්‍ෂාලනෛකසලිලානි මනොමලානාං
ශෞද්ධොදනෙඃ ප්‍රවචනානි චිරං ජයන්ති.

---

සුසූක්‍ෂ්ම මතිගම්භීරං ප්‍රශ්නං යො’ වගමත් සවතඃ,
තමහං ශිරසා වන්දෙ ත්‍රෛලොක්‍යප්‍රණතං ජිනම්.
ධර්මදාසෙන විදුෂා ප්‍රාශ්නං ශාස්ත්‍රං විනිර්මිතම්,
සුප්‍රබන්ධං සුසංක්‍ෂිප්තං නිපුණං ඥානවර්ධනම්.
තද්විඥාතු මශක්‍යාඃ ස්ථූලබිලා යෙ’ කෘතබුද්ධයඃ,
තෙෂාං හිතාය ව්‍යාවර්ණී යථාවද්භාෂයා ස්වයා.

1. ශෞද්ධොදනෙඃ, සර්වඥයන්වහන්සේගේ; ප්‍රවචනානි, සපර්‍යාප්තික නවලොකොත්තර සද්ධර්මයෝ; චිරම්, බොහෝකලක්; ජයන්ති, ජයග්‍රහණය කෙරෙත්වා; කෙබඳුවූ සද්ධර්මයෝද? භවදුඃඛ, සංසාරදුක්නැමැති; මහාගදානාම්, මහාරොගයන්ට; සිද්ධෞෂධානි, ප්‍රසිද්ධබෙහෙත්වූ; පුණ්‍යාත්මනාම්, පවිත්‍රස්වභාව ඇත්තවුන්ට; හෙවත් පිරිසිදුසිත් ඇත්තවුන්ට; පරම කර්ණරසායනානි, උත්තම කර්ණාමෘතවූ; හෙවත් කණට සැපඑළවන්නාවූ; මනොමලානාම්, මානසික කලිෂ්ටයන්ගේ; හෙවත් සිතෙහි උපදනා පාපයන්ගේ; ප්‍රක්‍ෂාලන, සේදීමෙහි; එකසලිලානි, මුඛ්‍යජලයක්වූ; හෙවත් අසහාය දියක්වූ; ශෞද්ධොදනෙඃ, (සුදොවුන් මහරජහුගේ පුත්‍රහෙයින් ශෞද්ධොදනීනම්වූ) සර්වඥයන්වහන්සේගේ; ප්‍රවචනානි, ප්‍රකෘෂ්ට වචනයෝ; හෙවත් සපර්‍යාප්තික නවලොකොත්තර සද්ධර්මයෝ; චිරම්, බොහෝකලක්; ජයන්ති, ජයග්‍රහණය කෙරෙත්වා; හෙවත් සර්වොත්කර්ෂයෙන් පවතිත්වා; (ජෙස්තුබනොඞාස්ජිබාන්ති යන අනුශාසනාවගේ වශයෙන් මෙහි අනද්‍යතන ස්ථානයෙහි අන්ති ආදෙශයි.)

2. ජයන්ති සන්තඃ සුකෘතෛකභාජනං
පරා[illegible]ම්පාදන සද්ව්‍රතස්ථිතාඃ,
කරස්ථනීරෝපම විශ්ව දර්ශිනො
ජයන්ති වෛදග්ධ්‍යභුවඃ කවේගිරඃ.

3. ආක්‍රාන්තෙව මහොපලෙන මුනිනා ශප්තෙව දුර්වාසසා
සාතත්‍යං වත මුද්‍රිතෙව ජතුනා නීතෙව මූර්ඡාං විෂෛඃ,
බද්ධෙවා තනුරජ්ජුභිඃ පරගුණාන් වක්තුං න ශක්තා සතී
ජිහ්වා ලොහශලාකයා බලමුඛෙ විද්ධෙව සංලක්ෂ්‍යතෙ.

4. ඉහා නෙකෙ සත්‍යං සතත මුපකාරිණ්‍යුපකෘතිං
කෘතඥාඃ කුර්වන්තො ජගති නිවසන්ත්‍යෙව සුධියඃ,
කියන්ත සෙත සන්තඃ සුකෘතපරිපාක ප්‍රණයිනො
විනා ස්වාර්ථං යෙෂාං භවති පරකෘත්‍යව්‍යසනිතා.

---

2. පරාර්ථසම්පාදන, අන්හට වැඩකිරීම් නැමැති, සද්ව්‍රතස්ථිතාඃ, මනාව්‍රතයෙහි සිටියාවූ; කරස්ථනීරොපමවිශ්වදර්ශිනඃ–කරස්ථ, අතතුබූ; නීරොපම, ජලයක්මෙන්; විශ්වදර්ශිනඃ, සියල්ලදක්නාසුලුවූ; සන්තඃ, සාධුජනයෝ; සුකෘත, යහපත් ක්‍රියාවන්ට; ඒකභාජනම්, අසහායබඳුන්ව; ජයන්ති, සර්වොත්කර්ෂයෙන් පවතිත්වා; (එසේම) වෛදග්ධ්‍යභුවඃ, පණ්ඩිතබව ඇතිවන්නාවූ; හෝ විසිතුරුබව ඇතිකරන්නාවූ; කවෙඃගිරඃ, ශ්‍රීබණ්ඩා දාස කවිහුගේ වචනයෝ; ජයන්ති, සර්වොත්කර්ෂයෙන් පවතිත්වා.

3. බලමුඛෙ, දුර්ජනයන්ගේ මුඛයෙහි; ජිහ්වා, රසනාතොමෝ; හෙවත් දිව; මහොපලෙන, මහගලකින්; ආක්‍රාන්තාඉව, යටකරණ ලද්දක්මෙන්ද; * දුර්වාසසා මුනිනා, අත්‍රිපුත්‍රවූ දුර්වාසස්නම් ඍෂිහුවිසින්; ශප්තා ඉව, සාපකරණ ලද්දක්මෙන්ද; ජතුනා, ලහකඩින්; සාතත්‍යම්, නිතොර; වත, අඥෙමසි; (කියා) මුද්‍රිතාඉව, මුද්‍රණයකරණ ලද්දක්මෙන්ද, විෂෛඃ, විෂයෙන්, මූර්ඡාම්, මුළාවට; නීතාඉව, පමුණුවනලද්දක්මෙන්ද; අතනුරජ්ජුභිඃ-අතනු, මහත්වූහෝ ඝනවූ; රජ්ජුභිඃ, රැහැණින්; බද්ධා ඉව, බඳනාලද්දක්මෙන්ද; ලොහසලාකයා, යකඩකූරකින්; විද්ධාඉව, විදිනාලද්දක්මෙන්ද; පරගුණාන්, අන්‍යයන්ගේගුණ; වක්තුම්, කියන්ට; නශක්තාසතී, නොහැකිවූවා; හෙවත් අපොහොසත්වූවා; සංලක්ෂ්‍යතෙ, සලකණුලැබේ; හෙවත් දකිනුලැබේ.

4. ඉහජගති, මේලොකයෙහි; අනෙකෙ, නොයෙක්; කෘතඥාඃ, කෙළෙහිගුණ දන්නාවූ; සුධියඃ, පණ්ඩිතයෝ; සතතම්, නිතර; උපකාරිණී, උපකාර ඇත්තවුන් කෙරෙහි; සත්‍යම්, සැබෑවූ හෝ අවිනශ්වරවූ; උප

---

* "දුඃඛෙෂ්වනුද්විග්නමනාඃ සුඛෙෂු විගතස්පෘහඃ,
වීතරාගභයක්‍රොධඃ ස්ථිරධීර්මුනිරුච්‍යතෙ"-යනු මුනීන්ගේ ලක්ෂණයි.

5. බද්ධාඤ්ජලිඃ සමමසජ්ජනසජ්ජනෞ තෞ
වන්දෙ නිතාන්තකුටිලප්‍රගුණස්වභාවෞ,
එකං භියා' භිනවසංහිතවෛරිභාවං
ප්‍රීත්‍යා' පරං පරමනිර්වෘතිපාත්‍රභූතම්.

6. කිං මෙ' ථවාහතබලප්‍රණතාවපි ස්‍යාත්
සස්වීකරොති සුජනො යදි මාං ගුණඥඃ,
චන්ද්‍රෙණ චාරුචරිතෙන විකාසිතං සත්
සඞ්කොචිතං භවති කිං කුමුදං තමොභිඃ.

---

කෘතිම්, උපකාරයක්; කුර්වාණඃ, කරමින්; නිවසන්තිඑව,වාසයකරත්මැයි; (වැලිඳු) ස්වාපීංවිනා, තමාගේ කායපීඩයක්හැර; යෙෂාම්, යම්කෙනෙකුන්ට; පරකෘත්‍ය, අන්කටයුත්තෙහි; ව්‍යසනිතා, ආසක්තියක්; හෙවත් උත්සාහයක්; භවති, වේද; සුකෘත, යහපත් ක්‍රියාවන්ගේ; පරිපාක, ශුභ ඵල; ප්‍රණයිනඃ, කැමැත්තාවූ; තෙ සන්තඃ, ඒසත්පුරුෂයෝ; කියන්තඃ, කීපදෙනෙක්; (සන්ති වෙති.)

5. අභිනව, අලුතෙන්මෙන්; සංහිත, ගළපනලද හෝ කරණලද; වෛරීභාවම්, සතුරුබවඇති; එකම්, එකකු; භියා, භයකරණකොටගෙණද; පරම, උත්කෘෂ්ටවූ; නිර්වෘති, සැපයට හෝ ප්‍රීතියට; පාත්‍රභූතම්, භාජනවූ; පරම්, අනිකකු; ප්‍රීත්‍යා, ප්‍රීතිය කරණකොටගෙණදැයි; නිතාන්තකුටිලප්‍රගුණස්වභාවෞ–නිතාන්තකුටිල, අතිශයින් වඞ්කඇත්තාවූද; ප්‍රගුණස්වභාවෞ, සත්පුරුෂ ප්‍රකෘති ඇත්තාවූද; තෞ අසජ්ජනසජ්ජනෞ; ඒ දුර්ජන සත්පුරුෂයන් දෙදෙනා; බද්ධාඤ්ජලිඃ, බදැදිලිඇතිව; (අහම්, මම;) සමම්, එකවිට; වන්දෙ, වදිම්.

6. අථවා, නොහොත්; යදි, ඉදින්; ගුණඥඃ, කෙළෙහි ගුණදත්නාවූ; සඃ සුජනඃ, ඒ සත්පුරුෂතෙම; මාම්, මා; ස්වීකරොති, (ආශ්‍රයදානවශයෙන්) තමාගෙන් කෙරේනම්; තදා, එකල්හි; හතබලප්‍රණතෞ අපි, හත, නසනලද; බල, දුර්ජනයන්ගේ; ප්‍රණතෞ අපි, නැමීම් ඇතිකල්හිදු; මෙ, මට; කිංස්‍යාත්, කුමක්වන්නේද; නොවන්නේමැයි; කුමුදම්, කුමුදු, හෙවත් හෙලුපුල්; (ඕලුද) චාරුචරිතෙන, මනොඥවූ හැසිරීම්ඇති; චන්ද්‍රෙණ, සඳනු කරණකොටගෙණ; විකාසිතංසත්, විකසිතවූයේ; තමොභිඃ, අන්ධකාරය කරණකොටගෙණ; කිම්, කිම; සඞ්කොචිතංභවති, හැකිළෙනලද්දේවේද? නොවේමැයි; (සත්පුරුෂ ආශ්‍රයක් ඇතිකල්හි දුර්ජනයෝ කිසිවකුවිසින් ආශ්‍රයනොකරණු ලැබෙති,දුර්ජනයෝ ඕහට කිසි නපුරක් කරන්ටත් අසමර්ථවන්නාහුය යනු භාවයි.)

7. ප්‍රීත්‍යෛ සතාං තදනුභාවගතාවසාදඃ
සන්‍යජ්‍ය ගුරුවනාං ප්‍රතිභානුරූපම්,
ක්ෂිප්‍රාවබොධකරණ ක්ෂම මීක්ෂිතාර්ථං
වක්ෂ්‍ය විදග්ධමුඛමණ්ඩන මප්‍රපඤ්චම්.

8. යද්‍යස්ති සභාමධ්‍යෙ-ස්ථාතුං වක්තුං මනාඤ්චෙද් සුධියඃ,
තාම්බූලමිව ගෘහීත්වා-විදග්ධමුඛමණ්ඩනං විශත.

9. ප්‍රාහු ර්ව්‍යස්තං සමස්තං ච ව්‍යස්ත සමස්තං ව්‍යිඃ සමස්තකම්,
තථා ව්‍යස්ත සමස්තං ච ද්විව්‍යස්තං ව්‍යිඃ සමස්තකම්.

10. සද්‍විඃ සමස්තකව්‍යස්ත මෙකාලාපං ප්‍රභින්නකම්,
භෙද්‍යභෙදක මොජස්වි සා ලඞ්කාරං සකෞතුකම්.

---

7. සතාම්, සාධූන්ගේ; ප්‍රීත්‍යෛ, ප්‍රීතියපිණිස; තදනුභාව, ඒ සාධූන්ගේ ආනුභාවයෙන්; ගතාවසාදඃ, පහකරණලද දුර්මලසිත්ඇති; (අහම්, මම;) ගුරුවනාම්, ගුරූනවූරවනාව; සන්‍යජ්‍ය, හැරපියා; ප්‍රතිභානුරූපම්, වැට හීමට සුදුසුවූ;හෙවත් ප්‍රඥාවට අනුරූපවූ; ක්ෂිප්‍රාවබොධකරණක්ෂමම්, වහා අවබොධකිරීමට යොග්‍යවූ; ඊක්ෂිතාර්ථම්, දක්නාලද අර්ථඇති; අප්‍රපඤ්චම්, විස්තරනුවූ; හෙවත් සංක්ෂෙපවූ; විදග්ධමුඛමණ්ඩනම්, (පණ්ඩිතයන්ගේ මුඛඅලඞ්කාරකරණ හෙයින්) එනම්වූ ග්‍රන්ථයක්; වක්ෂ්‍යෙ, කියන්නෙම්.

8. සුධියඃ, එම්බාපණ්ඩිතවරිණි; යදි, ඉදින්; සභාමධ්‍යෙ, (පඬිතයන් ගේ) සභාමධ්‍යයෙහි; ස්ථාතුම්, සිටින්ටද; වක්තුම්, කියන්ටද; මනඃ, සිතක්; අස්ති, ඇත්නම්; තද, එකල්හි; තාම්බූලම්ඉව, බුලත්මෙන්; ගෘහීත්වා; ග්‍රහණයකොට; විදග්ධමුඛමණ්ඩනම්, මෙනම්වූපොත; විශත, පරිශී ලනයකරව්; හෙවත් නැවත නැවත අභ්‍යාසකරව්.

9. (තදනන්තරව මෙහි උද්දෙශය දක්වන්නෝ ප්‍රාහුඃ යනාදී ශ්ලොක ද්සයක් දක්වත්, එහි පිළිවෙළ මෙසේයි) ව්‍යස්තම්, ව්‍යස්තයද; සමස්තංච, සමස්තයද; ද්විව්‍යස්තම්, ද්විව්‍යස්තයද; ද්විඃසමස්තකම්, ද්විඃසමස්තකයද; තථා, එසේම; ව්‍යස්තසමස්තංච, ව්‍යස්තසමස්තයද; ද්විව්‍යස්තම්, ද්විව්‍යස්තයද; ද්විඃස මස්තකම්, ද්විඃසමස්තකයද.

10. සද්විඃසමස්තකව්‍යස්තම්, ද්විඃසමස්තකව්‍යස්තයද; එකාලාපම්, එකා ලාපයද; ප්‍රභින්නකම්, ප්‍රභින්නකයද; භෙද්‍යභෙදකම්, භෙද්‍යභෙදකයද; ඔජස්වී, ඔජස්වීයද; සාලඞ්කාරම්, සාලඞ්කාරයද; සකෞතුකම්, සකෞ තුකයද.

11. ප්‍රශ්නොත්තරසමං පෘෂ්ට ප්‍රශ්නං භග්නොත්තරං තථා,
ආදිමධ්‍යොත්තරාඛ්‍යෙ ච අන්ත්‍යොත්තර මතඃ පරම්.

12. කථිතා පහ්නුතිශ්චෛව විෂමං වෘත්තනාමකම්,
නාමාඛ්‍යාතංච තාර්ක්‍යංච සෞත්‍රං ශාබ්දීයශාස්ත්‍රජෙ.

13. වර්ණ වාක්‍යොත්තරෙ තවත් ශ්ලොකොත්තරමතඃ පරම්,
ඛණ්ඩපාදොත්තරෙ චක්‍රං පද්මං කාකපදං තථා.

14. ගොමූත්‍රීං සර්වතො භද්‍රං ගතප්‍රත්‍යා ගතං බහු,
වර්ධමානාක්ෂරං තව හීයමානාක්ෂරං තථා.

15. ශෘඞ්ඛලාං නාගපාශංච චිත්‍රා සංගුඪ මෙව ච,
ප්‍රහෙලිකාං තදෘ හෘඪං කාලසාරාදි වර්ණිතම්.

---

11. ප්‍රශ්නොත්තරසමම්, ප්‍රශ්නොත්තරසමයද; පෘෂ්ටප්‍රශ්නම්, පෘෂ්ටප්‍රශ්නයද; තථා, එපරිද්දෙන්ම; භග්නොත්තරම්, භග්නොත්තරයද; ආදිමධ්‍යොත්තරාඛ්‍යෙ, ආද්‍යුත්තරය මධ්‍යොත්තරයයන නම්වූ; ච, දෙකද; අතඃපරම්, ඉන්ඔබ්බෙහි; අන්ත්‍යොත්තරම්, අන්ත්‍යොත්තරයද.

12. කථිතාපහ්නුතිශ්චෛව, කථිතාපහ්නුතියද; විෂමම්, විෂමයද; වෘත්තනාමකම්, වෘත්තනාමකයද; නාමාඛ්‍යාතංච, නාමාඛ්‍යාතයද; තාර්ක්‍යංච; තාර්ක්‍යයද; සෞත්‍රම්, සෞත්‍රයද; ශාබ්දීයශාස්ත්‍රජෙ, ශාබ්දීයශාස්ත්‍රජය යනදෙකද.

13. තවත්,එසේම; වර්ණවාක්‍යොත්තරෙ, වර්ණොත්තරය වාක්‍යොත්තරය යන දෙකද; අතඃපරම්, මෙයින්මතු; ශ්ලොකොත්තරම්, ශ්ලොකොත්තරයද; ඛණ්ඩපාදොත්තරෙ, ඛණ්ඩොත්තරයපාදොත්තරය යන දෙකද; චක්‍රම්, චක්‍රයද; පද්මම්, පද්මයද; තථා, එසේම; කාකපදම්, කාකපදයද.

14. ගොමූත්‍රීම්, ගොමූත්‍රිකයද; සර්වතොභද්‍රම්, සර්වතොභද්‍රයද; ගතප්‍රත්‍යාගතම්, ගතප්‍රත්‍යාගතයද; තවත්, එසේම; වර්ධමානාක්ෂරම්, වර්ධමානාක්ෂරයද; තථා, එසේම; හීයමානාක්ෂරම්, හීයමානාක්ෂරයද.

15. ශෘඞ්ඛලාම්, ශෘඞ්ඛලයද; නාගපාශංච, නාගපාශයද; චිත්‍රම්, චිත්‍රයද; සංගුඪමෙවච, සංගුඪයද; තථා, එසේම; ප්‍රහෙලිකාම්, ප්‍රහෙලිකාවද; හෘඪම්, හෘඪයද; කාලසාරාදි වර්ණිතම්, කාලසාරාදි වර්ණිතයද.

16. අජමාරාදිකං ගුණං පදපාදාපිගුණකම්,
සත්‍රුතිනිඝං තථා ව්‍යපිං සභාපහශ්‍රුති බින්දුමත්.

17. ක්‍රියාකාරක සම්බන්ධ ග්‍රන්ථාන්‍යා මන්ත්‍රිතස්‍ය ච,
ග්‍රන්ථං තථා සමාසස්‍ය ලිඞ්ගස්‍ය වචනස්‍ය ච.

18. මාත්‍රාබින්දුවිසර්ගාණාං චිහ්නකාන්‍යක්ෂරස්‍ය ච,
ස්ථානව්‍යඤ්ජනයොශ්චාපි චිහ්නදන්තාක්ෂරං තථා.

ඉත්‍යුද්දෙශකම්.

---

19. ප්‍රථමං පදවිභාගෙන කෙවලෙනෛව යද්භවෙත්,
විදුර්ව්‍යස්තං සමස්තං යත්සමුදායෙන ප්‍රවර්ත්ති.

---

16. අජමාරාදිකම්, අජමාරාදිකයද; ගුණම්, ගුණයද; පදපාදාපිගුණකම්, පදගුණ-පාදගුණ-අපිගුණයද; සත්‍රුතිනිඝම්, සත්‍රුතිනිඝවද; තථා, එසේම; ව්‍යපිම්, ව්‍යපියද; සභාපහශ්‍රුති, සභාපහශ්‍රුතියද; බින්දුමත්, බින්දුමත්ද.

17. ක්‍රියාකාරක සම්බන්ධ ග්‍රන්ථානි, ක්‍රියාග්‍රන්ථ-කාරකග්‍රන්ථ-සම්බන්ධ ග්‍රන්ථයන්ද; ආමන්ත්‍රිතස්‍ය ච ග්‍රන්ථම්, ආමන්ත්‍රණ ග්‍රන්ථයද; තථා, එපරිද්දෙන්; සමාසස්‍යච, සමාසග්‍රන්ථයද; ලිඞ්ගස්‍ය, ලිඞ්ගග්‍රන්ථයද; වචනස්‍යච, වචනග්‍රන්ථයද.

18. මාත්‍රාබින්දුවිසර්ගාණාං චිහ්නකානි, මාත්‍රාචිහ්නක-බින්දුචිහ්නක-විසර්ග චිහ්නකයන්ද; අක්ෂරස්‍යච, අක්ෂරචිහ්නකයද; ස්ථානව්‍යඤ්ජනයොශ්චාපි, ස්ථානචිහ්නක-ව්‍යඤ්ජනචිහ්නකදෙකද; තථා, එසේම; චිහ්නදන්තාක්ෂරම්, චිහ්නාක්ෂරය-දන්තාක්ෂරයයන; (එතත්සර්වම්, මේ සියල්ල; අත්‍ර, මෙහිදී) බහු, බොහෝසේ; ප්‍රාහුඃ, කියති.

මෙතෙකින් උද්දෙශය නිමි.

---

19, යත්, යම්පදයක්; කෙවලෙනෛව, තනිනනිමවූ; පදවිභාගෙන, පද යන්ගේ විභාගයෙන්; ප්‍රථමම්, විචාරණලද්දේ; භවෙත්, වන්නේනම්; (තත්, ඒපදය;) ව්‍යස්තම්, ව්‍යස්තපදයයි; හෙවත් අසමාසව සිටිපදයයි; යත්, යම් පදයක්; සමුදායෙන, පදසමූහයෙන්ම; ප්‍රවර්ත්ති, විචාරද; (තත්, ඒපදය;) සමස්තම්, සමාසපදයයි; විදුඃ, දනිති.

20. පූජායාං කිං (1) පදං ප්‍රොක්තමස්තනං කො (2) විහර්ත්‍යුරඃ,
ක (3) ආයුධතයා ඛ්‍යාතඃ ප්‍රලම්බාසුරවිද්විෂඃ.

**සුනාසීරඃ.**

ඉති ව්‍යස්තසමස්තජාතිඃ.

21. කො (1) දුරාඪ්‍යස්‍ය මොහාය කා (2) ප්‍රියාමුරවිද්විෂඃ,
පදං ප්‍රශ්නවිතර්කේ කිං (3) කො (4) දන්තච්ඡදභූෂණම්.

**රමානුරාගඃ.**

ඉති ව්‍යස්තජාතිඃ.

---

20, කිංපදම්, කවර පදයක්; පූජායාම්, පිදීමෙහි; ප්‍රොක්තම්, කියනලද්දේද? කඃ, කවරෙක්; අස්තනම්, තනනැත්තාවූ; උරඃ, ළය; බිහර්ති, උසුලාද;? කඃ කවරෙක්; ප්‍රලම්බාසුරවිද්විෂඃ, බලභද්‍රයාගේ; ආයුධතයා, ආයුධබැවින්; ඛ්‍යාතඃ, ප්‍රසිඞවීද?

**"සුනාසීරඃ"** යනු මෙහි ප්‍රශ්නවලට පිළිවෙළින් උත්තරයි, ඒවනාහි තනිතනි පදවශයෙන් ගත්කල "සු" "නා" "සීරඃ" යී පදතුණක්ද සමුදායවශයෙන් ගත්කල "සුනාසීරඃ" යී එකපදයක්ද වෙණේ, පූජායෙහි කියනලද්දේ **"සු"** සුයන අව්‍යයපදයයනු (1) ප්‍රශ්නයට උත්තරය, තනනැතිළයක් උසුලන්නේ **"නා"** පුරුෂයායනු (2) ප්‍රශ්නයට උත්තරය, බලභද්‍රයාගේ ආයුධයයි ප්‍රසිඞවූයේ **"සීරඃ"** නඟුලයයනු (3) ප්‍රශ්නයට උත්තරය, මේ ව්‍යස්තොදාහරණයි, සුෂ්ඨු නාසීරඃ යස්‍ය සුනාසීරඃ, සුෂ්ඨු, යහපත්ව; නාසීරඃ, ඉදිරියෙහි යනසෙනාව; යස්‍ය, යමකුගේද; සඃ, හෙතෙම; සුනාසීරඃ, සුනාසීරනම්වෙයි' ශක්‍රයි; මේසමස්තොදාහරණයි.

මේ ව්‍යස්තසමස්තජාතියි.

21. කඃ, කවරවස්තුවක්; දුරාඪ්‍යස්‍ය, දුෂ්ටවූ ධනවතාගේ; මොහාය, මුළාවපිණිස; (පවත්නේවේද;?) කා, කවරනැනැත්තියක්; මුරවිද්විෂඃ, විෂ්ණුහුගේ; ප්‍රියා, භාර්‍ය්‍යාවන්නීද; කිංපදම්, කවර පදයක්; ප්‍රශ්නවිතර්කේ, ප්‍රශ්නයෙහි හා විතර්කයෙහි; (යෙදියයුතුද?) කඃ, කවරක්; දන්තච්ඡද, තොලට; භූෂණම්, සැරසීමවේද?

**"රමානුරාගඃ"** යනු මෙහි ප්‍රශ්නවලට පිළිවෙළින් උත්තරයි, කවරවස්තුවක් නපුරු ධනවත්තයාගේ මුළාවපිණිස වේද? **"ර"** ධනයයනු (1) ප්‍රශ්නයට උත්තරය, විෂ්ණුහුගේ අඹු කවරනැනැත්තියක්ද? **"මා"** ලක්ෂ්මීයනු (2) ප්‍රශ්නයට උත්තරය, කවර පදයක් ප්‍රශ්නවිතර්කදෙක්හිම යෙදියයුතුද? **"නු"** යන අව්‍යයයනු (3) ප්‍රශ්නයට උත්තරය, කවරක් තොලට අලඞකාරද? **"රාගඃ"** රත්පැහැයයනු (4) ප්‍රශ්නයට උත්තරය.

මේ ව්‍යස්තජාතියි.

22. අපිසෙවිතා විජිවෛහඃ–කදාපි කෙ (1) නයාන්ති විකාරම්,
විවර්ද්ධමානතනවඃ–ස්වගුණෛ රධිකං විරාජන්තෙ.

**මලයතරවඃ.**

23. අනිභෘත කොකිල නිඃස්වන–මුඛරිත සහකාරකානනඃ පුංසාම්,
කො (1) භවති හෘදයහාරී–මධුරඣඞ්කාරි කණ්ඩකලිඃ.

**මධුසමයඃ.**

ඉති සමස්තජාතිඃ.

24. ව්‍යස්තං සමස්තමථවා සමාසපද භඞ්ගතඃ,
ද්විඃපෘෂ්ටං යත්තදෙව ස්‍යාද් ද්විව්‍යස්තං ද්විඃසමස්තකම්.

---

22. විජිවෛහඃ, සජ්ජනයන්විසින් හෝ දුර්ජනයන්විසින්; සෙවිතා අපි, සෙවිනා ලද්දාවූද; කෙ, කවුරු; කදාපි, කිසිකලෙකත්; විකාරම්, අන්‍ය ස්වරූපයකට; නයාන්ති, නොපැමිණෙද්ද? කෙ, කවුරු; විවර්ද්ධමාන තනවඃ, කපනලද සිරුරු ඇත්තාහු හෝ වැඩෙනට පැමිණියාහු; ස්වගු ණෛඃ, තමාඅයත් ගුණයෙන් හෝ ස්වකීය ධෛර්‍ය්‍යාදි ගුණයෙන්; අධි කම්, වැඩියක්; විරාජන්තෙ, බබලද්ද? "**මලයතරවඃ**" යනු මෙහි ප්‍රශ්න වලට උත්තරයි,(මලයාශ්‍රිතා තරවඃ වා මලයෙ ජාතාඃ තරවඃ) මලයතර වඃ, සඳුන් වෘක්ෂයි යනු (1) ප්‍රශ්නයට උත්තරය, මේ මලයතරවඃ යන උත්තරයම ව්‍යඤ්ජනාවෘත්තිවශයෙන් ගත්විට වරතමලයාඃ යනුවේ, වර තමලය ඇත්තෝ "සුජනාඃ" සත්පුරුෂයෝය යනු තාත්පර්‍ය්‍යවශයෙන් ව්‍යඞ්ගාර්ථයෙහි යෙදියයුතු උත්තරයයි.

23. අනිභෘත, නිරන්තරයෙන්; කොකිල, කොවුලන්ගේ; නිඃස්වන, රාවයෙන්;මුඛරිත, මුඛරවූ; හෙවත් නාදපවත්වනලද;සහකාරකානනඃ, මීඅඹවනඇති; මධුර, මිහිරිවූ; ඣඞ්කාර, භෘඞ්ගයන් විසින් ඣංයන අනු කරණ පවත්වන; කණ්ඩකලිඃ, හොපලුගස්ඇති; කඃ, කවරෙක්; පුංසාම්, මනුෂ්‍යයන්ගේ; හෘදයහාරී, සිත්පැහැරගැණීම් ඇත්තේ; භවති, වේද?

"**මධුසමයඃ**" (මධූනාං සමයඃ) මල්රසයුත් වසන්තකාලය යනු මේ ප්‍රශ්නයට උත්තරය.

මේ සමස්තජාතියි.

24. යත්, යම්; ව්‍යස්තම්, අසමාසව සිටියාවූ පදයක්ද; අථවා, නො හොත්; සමස්තම්, සමාසවසිටියාවූ පදයක්; සමාසපදභඞ්ගතඃ, සමාසපද වෙන්කිරීම් වශයෙන්ද; ද්විඃ පෘෂ්ටම්, දෙවරක් විචාරණලද්දේ;ස්‍යාත්, වන් නේනම්; තත් එව, එමපදය; ද්විව්‍යස්තම්, ද්විව්‍යස්තයද; ද්විඃසමස්තකම්, ද්විඃසමස්තකයද; (භවති, වෙයි යොදනු.)

25. වර්ෂාසු කා (1) භවති නිම්බූ කීදෘග (2) බජං,
ශෙෂං බිභර්ති වසුධා සහිතං ක (3) එකඃ.
ආමන්ත්‍රයස්ව (4) ධරණීධර නාථපුත්‍රීං,
කො, (5) වාසති භසමනි චිතාඞ්ගජනාශ්‍රයඃ ස්‍යාත්.

**කාලිකාපාලිකමඨඃ**

26. කීදෘශං (1) වද මරුස්ථලං මතං
වාරිකුත්‍ර (2) සති භූෂණං භවෙත්,
බ්‍රෑහි කාන්ත! සුභටඃ සකාර්මුකඃ
කීදෘශො (3) භවති කුත්‍ර විවිෂාමි.

**අවාරිතොරණෙ.**

**ඉති විව්‍යස්තජාතිඃ**

---

25. වර්ෂාසු, වර්ෂාකාලයෙහි; කා, කවරක්; භවති, වේද? නිම්බු, පැනි නැත්තාවූ; අබජම්, පියුම; කීදෘක් අයහි, කෙබඳුවේද? කඃඑකඃ, කවර නම් එකෙක්; වසුධාසහිතම්, පොළොව සහිතවූ; ශෙෂම්, අනන්තනම් නාරජ; බිභර්ති, උසුලාද; ධරණීධරනාථපුත්‍රීම්, පර්වතරජදූහිතෘවට; ආමන්ත්‍රයස්ව, අඬගසව; කඃවා, කවරක් හෝ; භසමනිචිතාඞ්ගජන, අළුගාත ශරීරඇති ජනයන්ට; ආශ්‍රයඃස්‍යාත්, ආශ්‍රයවන්නේද?.

**"කාලිකාපාලිකමඨඃ"** යනු මෙහි ප්‍රශ්නවලට ක්‍රමයෙන් උත්තරයි– **"කාලිකා"** (කානාම් ආලිකා) දියසමූහයයනු (1) ප්‍රශ්නයට උත්තරය, **"අපාලි"** (අපගතාඅලයඃ යස්මාත් තත්) බමරුන්ගෙන් තොරයයනු 2) ප්‍රශ්නයට උත්තරය, **"කාමඨඃ"** ඉදුබූවායනු (3) ප්‍රශ්නයට උත්තරය, **"කාලි"** එනම් නැනැත්තියයනු (4) ප්‍රශ්නයට උත්තරය, **"කාපාලිකමඨඃ"** (කාපාලිකස්‍යමඨඃ) කාපාලිකයාගේ හෙවත් ඊශ්වරයාගේ දෙවාලය යනු (5) ප්‍රශ්නයට උත්තරය.

26. මරුස්ථලම්, වැලිතලාව; කීදෘශම්, කෙබඳුදැයි; මතම්, අදහස; වද කියව; වාරි, දොරකඩ; කුත්‍රසති, කුමක්ඇතිකල්හි; භූෂණම්, සැරසිල්ලක්; භවෙත්, වන්නේද? කාන්ත!, එම්බාප්‍රියාව!; කුත්‍ර, කොතැන්හිදී; සකාර්මුකඃ, දුනුසහිතවූ; සුභටඃ, යහපත් වීරයෙක්; විවිෂාමි, සතුරන්ට; කීදෘශඃභවති, කෙබඳුවේදැයි? බ්‍රෑහි, කියව.

**"අවාරිතොරණෙ"** යනු මෙහි ප්‍රශ්නවලට පිළිවෙළින් උත්තරයි– **"අවාරි"** (නාස්ති වාරියස්මින් තත්) දියනැතියනු (1) ප්‍රශ්නයට උත්තරය; තොරණෙ, තොරණක් ඇතිකල්හියනු (2) ප්‍රශ්නයට උත්තරය; අවාරිතඃරණෙ, රණබිම්හිදී නොවළක්වනලද්දේයනු (3) ප්‍රශ්නයට උත්තරය.

27. පක්ෂිශ්‍රේෂ්ඨසඛී බභ්‍රූ සුරවාච්‍යාඃ කථං (1) වද,
ජ්‍යෙෂ්ඨේ මාසි ගතාඃ ශොෂං කීදෘශ්‍යා (2) ල්පජලාභුවඃ.

**විවරාලීනකුලීරාඃ.**

28. විශ්වම්භර ප්‍රලම්බඝ්න ව්‍රීහිමානුෂසංයතඃ,
කථං (1) වාච්‍යාඃ භවන්ත්‍යතා දිනාදෞ විකසන්ති කාඃ (2)

**කුවලශ්වනරාජයඃ.**

ඉති විඃසමස්තජාතිඃ.

---

27. පක්ෂිශ්‍රේෂ්ඨසඛිබභ්‍රූසුරාඃ—පක්ෂි, සියොත්ය; ශ්‍රේෂ්ඨ, උත්තමය; සඛි, යෙහෙලිය; බභ්‍රූ, මුගටිදෙනාය; සුරාඃ, රය යනමොහු; කථම්, කෙසේ හෙවත් කවර කවර ශබ්දයකින්; වාච්‍යාඃ, කියයුත්තාහුදසි; වද, කියව; ජ්‍යෙෂ්ඨේමාසි, පොසොන්මාසෙයිදී; ශොෂම්, වියලීමට; ගතාඃ, පැමිණියාවූ; අල්පජලාඃ, මදදියඇති; භුවඃ, භූමීහු; කීදෘශ්‍යඃ, කෙබඳුවෙද්ද?

"**විවරාලීනකුලීරාඃ**" යනු මෙකී ප්‍රශ්නවලට ක්‍රමයෙන් උත්තරයි— "විඃ" යනු (1) වෙනි ප්‍රශ්නයට උත්තරය, පක්ෂියනාඅර්ථයි, "වරඃ" යනු (2) ප්‍රශ්නයට උත්තරය, ශ්‍රේෂ්ඨයනාඅර්ථයි, "ආලී" යනු (3) ප්‍රශ්නයට උත්තරය, යෙහෙලියනාඅර්ථයි, "නකුලී" යනු (4) ප්‍රශ්නයටඋත්තරය, මුගටිදෙන යන අර්ථයි, "ඉරාඃ" යනු (5) ප්‍රශ්නයට උත්තරය, සුරා යනාඅර්ථයි, "විවරාලීන කුලීරාඃ" (විශ්චවරශ්ච ආලීච නකුලීච ඉරශ්ච, වා විවරේෂු ආලීනාඃ කුලීරාඃ යාසාම්)සිදුරුවල සැගවුනු කකුළුවෝ ඇත්තාහයනු (6)ප්‍රශ්නයටඋත්තරය.

28. විශ්වම්භරප්‍රලම්බඝ්නව්‍රීහිමානුෂසංයතාඃ—විශ්වම්භරා, පෘථිවිය; ප්‍රලම්බඝ්න, බලදෙවය; ව්‍රීහි, වීය; මානුෂ, මනුෂ්‍යය; සංයතාඃ, යුධ යනා; එතාඃ මොහු; කථම්, කෙසේ; (කවර කවර ශබ්දයකින්) වාච්‍යාඃ, කියයුත්තාහු; භවන්ති, වෙද්ද? දිනාදෞ, උදයකාලයෙහි; කාඃ, කවරක්හු; විකසන්ති, ප්‍රබොධවෙද්ද?.

"**කුවලශ්වනරාජයඃ**" යනු මෙහි ප්‍රශ්නවලට උත්තරයි—"කුඃ"යනු (1) ප්‍රශ්නයට උත්තරය, පොළවයනාඅර්ථයි, "බලඃ" යනු(2) ප්‍රශ්නයට උත්තරය, බලදෙවයායනාඅර්ථයි, "යවඃ" යනු (3) ප්‍රශ්නයට උත්තරය, වී යනා අර්ථයි, "නරඃ" යනු (4) වෙනි ප්‍රශ්නයට උත්තරය, මනුෂ්‍ය යනාඅර්ථයි, "ආජයඃ" යනු (5) ප්‍රශ්නයට උත්තරය, සමරබිම්යනාඅර්ථයි, "කුවලයවනාරාජයඃ" (කුශ්ච බලශ්ච යවශ්ච නරශ්ච ආජිශ්ච, වා කුවලයානාං වනානි තෙෂාංරාජී) මහනිල්වනාපෙළයනු (6) ප්‍රශ්නයට උත්තරය.

මේ විඃසමස්තජාතියි.

29. පෘෂ්ටං පදවිභාගෙන සමුදායෙන යද්භවෙත්,
විදු ර්ව්‍යස්ත සමස්තංත දුභයාර්ථ ප්‍රදර්ශිනාත්.

30. කා (1) ප්‍රියෙණ රහිතා වරාඞ්ගනා
ධාමනි කෙන තනයෙන නන්දිතා, (2)
කීදෘශෙන (3) පුරුෂෙණ පක්ෂිණාං
බන්ධනං සමභිලක්ෂ්‍යතෙ සදා.

සකුන්තලාභරතෙන.

---

29. යත්, යමක්; පදවිභාගෙන, පදයන්ගේ විභාගයෙන්ද; සමුදායෙන, පදසමූහයෙන්ද; පෘෂ්ටම්, විචාරණලද්දේ; භවෙත්, වන්නේනම්; තත්, ඒ; උභයාර්ථප්‍රදර්ශිනාත්, (අසමාස සමාසයෙන) අර්ථද්දෙනෙක්හුගේ දක්වීමෙන්; ව්‍යස්තසමස්තම්, ව්‍යස්තසමස්තායයි; විදුඃ, දනිති.

30. කා, කවර; වරාඞ්ගනා, උත්තමස්ත්‍රියක්; ප්‍රියෙණ, වල්ලභයාගෙන්; රහිතා, විරහිණීද?; ධාමනි, ගෘහයෙහි; කෙන, කවරවූ; තනයෙන, පුත්‍රයකු කරණකොටගෙණ; නන්දිතා, සතුටුවූද?; කීදෘශෙන, කෙබඳුවූ; පුරුෂෙණ, පුරුෂයකුවිසින්; සදා, හැමකල්හි; පක්ෂිණාම්, සියොතුන්ගේ; බන්ධනම්, බැඳීම; සමභිලක්ෂ්‍යතෙ, මොනවට කැමතිවනුලැබේද?.

"සකුන්තලාභරතෙන" යනු මෙහි ප්‍රශ්නවලට පිළිවෙළින් උත්තරයි–"සකුන්තලා" එනම්වූ රජබිසවයනු (1) ප්‍රශ්නයට උත්තරය, (මැඋමාවගේ මව්වූ "මෙනකා" නම් සවර්ගස්ත්‍රීයකගේ කුස "විශ්වාමිත්‍ර" ඍෂිත්විසින් ජනිතකොට උපන් ඇසිල්ලෙහි මව්විසින් හැරදමා "සොණ්ට කුක්කුට" නම් පක්ෂිවර්ගයකුවිසින් ගෙණයනලද හෙයින් සකුන්තලානම් ඇතිවී පසුව "කණ්ව"නම් ඍෂිත්විසින් පාලණයකරණලද්දී "දුෂ්මන්ත" නාම් රජහු හා ගාන්ධර්වවිවාහවිධියෙන් විවාහවූවායයි පුරාතනකථාප්‍රබන්ධවල පෙණේ) "භරතෙන" (දුෂ්මන්ත රජුටදාව මෙම සකුන්තලාව කුස උපන්) භරතකුමාරයා කරණකොටගෙණ යනු (2) ප්‍රශ්නයට උත්තරය; "සකුන්තලාභරතෙන" (සකුන්තානාං ලාභඃ තස්මින් රතඃ තෙන) පක්ෂීන්ගේ ලැබීමෙහි ඇලුනාහුවිසින්; හෙවත් පක්ෂිවැද්දකුවිසින් යනු (3) ප්‍රශ්නයට උත්තරය.

31. කීදෘශං (1) හෘදයහාරි කූජිතං
කඃ (2) සඛා යශසි භූපතෙ මතඃ,
කඃ (3) තවාසති විපිනෙ භයාකුලඃ
කීදෘශශ්ච (4) නභවෙන්නිශාකරඃ.

**කලඞ්කවිරහිතඃ.**

ඉති ව්‍යස්තසමස්තජාතිඃ.

32. විව්‍යස්ත මෙව යත් පෘෂ්ටං සමුදායෙන යද්භවෙත්,
ත්‍රිධාභින්නං තදෙවොක්තං විව්‍යස්තක සමස්තකම්.

33. කෞ (1) ශඞ්කරස්‍ය වලයාව පයොධරඃ කඃ (2)
කීදෘක් (3) පරස්‍ය නියතං වශමෙති භූපඃ,
සම්බොධයොරගපතිං (4) විජයී ච කීදෘග් (5)
දුර්යොධනො නහි භවෙද් වද කීදෘශශ්ච.

**අහිනාක්ෂතනයඃ.**

---

31. හෘදයහාරි, සිත්පැහැරගන්නාවූ; හෝ සිත්කලුවූ; කූජිතම්, රාවය; කීදෘශම්, කෙබඳුද?; භූපතෙඃ, රජහුගේ; යශසි, යශස්හි; කඃ, කවරෙක්; සඛා, යහළුයයි; මතඃ, දන්නාලද්දේද?; විපිනෙ, වනයෙහි; කඃ, කවරෙක්; තව, තොපපිළිබඳ, භයාකුලඃ, භයින්ආකුලවූයේ; අස්ති, ඇද්ද?; නිශාකරඃ, සඳු; කීදෘශශ්ච, කොබඳුවූයේ; නභවෙත්, නොවන්නේද?.

"කලඞ්කවිරහිතඃ" යනු මේ ප්‍රශ්නවලට ක්‍රමයෙන් උත්තරයි— "කලම්" මිහිරිහීත්හඬ යනු (1) ප්‍රශ්නයට උත්තරය, "කවිඃ" කාව්‍යකාරයෙක් යනු (2) ප්‍රශ්නයට උත්තරය; "අභිතඃ" සතුරායනු (3) ප්‍රශ්නයටඋත්තරය, "කලඞ්කවිරහිතඃ" (කලඞ්කෙන විරහිතඃ) කැලලින් තොරවූයේ නොවෙසියනු (4) ප්‍රශ්නයට උත්තරය.

මේ ව්‍යස්තසමස්තජාතියි.

32. යත්, යම්; විව්‍යස්තම්එව, ව්‍යස්තවසිටි පදදෙකක්ම; ත්‍රිධා, තුන් පරිද්දෙකින්; භින්නම්, බිඳුනේ; යත්, යම්විටක; සමුදායෙන, පදසමූහයෙන්; පෘෂ්ටම්, විචාරණලද්දේ; භවෙත්, වන්නේනම්; තත්එව, එම; විව්‍යස්තක සමස්තකම්, විව්‍යස්තක සමස්තකයයි; උක්තම්, කියනලදී.

33. ශඞ්කරස්‍ය, මහදෙවියාගේ; වලයෞ, වළලුදෙක; කෞ, කවරහු දෙදෙනෙක්ද? අපයොධරඃ, තනනැත්තේ; කඃ, කවරෙක්ද?; කීදෘක්, එකබඳුවූ; භූපඃ, රජෙක්; පරස්‍ය, සතුරාගේ; වශම්, වසඟයට; නියතම්, කොතනයෙන්; එති, පැමිණේද?; උරගපතිම්, නාගරාජයාට; සම්බොධය, ආමන්ත්‍රණයකරව; විජයීච, දිනනසුලුනැනැත්තේ; කීදෘක්, කෙබඳුද? දුර්යොධනඃ, දුර්යොධනතෙම; කීදෘශශ්ච, කෙබන්දෙක්; නහි භවෙත්, නොවන්නේදැයි; වද, කියව.

